# සිංහල

## කියවීම් පොත

## 5 ශ්‍රේණිය

## අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



සියලු ම පෙළපොත් ඉලෙක්ට්‍රොනික් මාධ්‍යයෙන් ලබා ගැනීමට
www.edupub.gov.lk වෙබ් අඩවියට පිවිසෙන්න.

# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා

ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා

අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා

පිළිගනු මැන අප භක්ති පූජා

නමෝ නමෝ මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා

ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති

ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ

ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ

නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා

ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා

එක මවකගෙ දරු කැල බැවිනා

යමු යමු වී නොපමා

ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

මනුගුණදම් සුරකින්නට නිති කැපවුණු කුසලතා පිරි මනුෂ්‍ය වර්ගයාට මේ ලෝකය වඩාත් සොඳුරු බිමක් බවට පත් කළ හැකි ය. ඒ සඳහා රටක අධ්‍යාපනය නිරතුරුවම බලසම්පන්න කරගතයුතු වන්නේ අනාගත වැඩලොව පිළිබඳව ද මනා අවදියෙන් සිටිමිනි. දිනෙන් දින විශ්ව ගම්මානය වෙත එක්වන සාරවත් නව දැනුම අපේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සමඟ මුසුකර ගැනීම අනිවාර්යයෙන් සිදුවිය යුතු අතරම අපගේ යහගුණදම් ද ඒ හා ඒකාත්මික කරගන්නට අමතක නොකළ යුතු ය. මෙම සාධනීය ගුණාංග රැකගනිමින් වඩාත් යහපත් සිසු පරපුරක් නිර්මාණය කිරීමේ උත්කෘෂ්ට මෙහෙවරට අවැසි ගුණාත්මක ඉගෙනුම් ආධාරක සම්පාදනය කිරීම අප දෙපාර්තමේන්තුවේ ප්‍රමුඛ පරමාර්ථය බව අවධාරණය කරමි.

නේක විසිතුරු සිත්තම් හා අකුරුවලින් සපිරි මේ පෙළපොත් අනාගත ලොවට මඟ එළි දල්වන ප්‍රදීපස්තම්භ බඳු ය. ඔබ පාසල් බිමෙන් සමුගත් දිනක වුව, තුටින් සිහි කළ හැකි මිහිරි මතක, මේ පාඩම් පොත් පිටු අතර රැඳී තිබෙනු නිසැක ය. ගුරු තරුවල නොමඳ ආලෝකය ලබා ගනිමින් ඔබ මේ දැනුම හා වින්දනය කැටිකළ අනගි ත්‍යාගයෙන් නිසි පල නෙළා ගත යුත්තේ තව තවත් දැනුම් අවකාශ වෙත යුහුසුලුව පියමනිමිනි. රජය පෙළපොත් වෙනුවෙන් වැය කළ අප්‍රමාණ වූ ධනස්කන්ධයට අමිල අගයක් ලබා දිය හැක්කේ පාසල් සිසු දරු දැරියන් වූ ඔබට පමණි. දිවිය වෙත හඹා එන අනේක බාධක දිරියෙන් ජයගෙන, හෙට ලොව සුපුෂ්පිත කරවන්නට දැයේ දරුදැරියන්ට හැකිවේවායි අප්‍රමාණ ස්නේහයෙන් ආශීර්වාද කරන්නෙමි.

පෙළපොත් සම්පාදන ක්‍රියාවලිය වෙනුවෙන් මනා කැපවීමකින් සම්පත්දායකත්වය සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ස්තුතිය පිරිනමමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

## නියාමනය හා අධීක්ෂණය

| | | |
|---|---|---|
| පී. එන්. අයිලප්පෙරුම | - | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## මෙහෙයවීම

| | | |
|---|---|---|
| ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි | - | අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## සම්බන්ධීකරණය

| | | |
|---|---|---|
| ප්‍රගීතිකා ජයසේකර | - | නියෝජ්‍ය කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| ප්‍රදීප් ඉඳුනිල් පියරත්න | - | සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |
| ඩී. එම්. මල්කා මිලානි | - | සහකාර කොමසාරිස්<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

## සංස්කාරක මණ්ඩලය

| | | |
|---|---|---|
| ජේ. බී. දිසානායක | - | සම්මානිත මහාචාර්ය<br>කොළඹ විශ්වවිද්‍යාලය |
| එම්. ආර්. ඩබ්ලිව්. මද්දුම | - | අධ්‍යක්ෂ<br>සිංහල භාෂා දෙපාර්තමේන්තුව<br>ජාතික අධ්‍යාපන ආයතනය<br>මහරගම |
| ජේ. ඒ. නිර්මලා දමයන්ති ජයසිංහ | - | කථිකාචාර්ය<br>මුල් ළමාවිය හා ප්‍රාථමික අධ්‍යාපන<br>දෙපාර්තමේන්තුව<br>ජාතික අධ්‍යාපන ආයතනය<br>මහරගම |
| ඒ. ඩී. බාලපටබැඳිගේ | - | සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ<br>ප්‍රාථමික අධ්‍යාපන ශාඛාව<br>අධ්‍යාපන අමාත්‍යාංශය |

## ලේඛක මණ්ඩලය

| | | |
|---|---|---|
| එච්. පී. සුසිල් සිරිසේන | - | කථිකාචාර්ය<br>හාපිටිගම් ජාතික අධ්‍යාපන විද්‍යාපීඨය<br>මීරිගම |
| ඩබ්ලිව්. කරුණාරත්න | - | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය<br>ගිරාගම ගුරු මධ්‍යස්ථානය, ගිරාගම<br>පිළිමතලාව |
| ඩබ්ලිව්. එම්. රෝහිණී චිත්‍රලතා | - | ප්‍රාථමික ගුරු උපදේශිකා<br>කලාප අධ්‍යාපන කාර්යාලය<br>ගිරිඋල්ල |
| විපුලි නිරෝෂිණී හෙට්ටිආරච්චි | - | රාජ්‍ය සම්මාන ලාභී ලේඛිකා<br>(ළමා සාහිත්‍යය) |
| තනූජා නිශාන්ති අයගම | - | රාජ්‍ය සම්මාන ලාභී ලේඛිකා<br>(ළමා සාහිත්‍යය) |
| පී. ඒ. සුභානි | - | ගුරු සේවය<br>සිරිමාවෝ බණ්ඩාරනායක විද්‍යාලය<br>කොළඹ 5 |

## භාෂා සංස්කරණය

| | | |
|---|---|---|
| පූජ්‍ය ආචාර්ය මොරකන්දේගොඩ අරියවංස හිමි | - | ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය<br>සිංහල අධ්‍යයන අංශය<br>රුහුණ විශ්වවිද්‍යාලය |

## සෝදු පත් කියවීම

| | | |
|---|---|---|
| ජයත් පියදසුන් | - | කර්තෘ මණ්ඩලය - සිළුමිණ<br>ලංකාවේ සීමාසහිත එක්සත් ප්‍රවෘත්ති<br>පත්‍ර සමාගම |

## චිත්‍ර හා පිටකවර නිර්මාණය

| | | |
|---|---|---|
| සමන් කළුබෝවිල | - | කථිකාචාර්ය<br>හාපිටිගම් විද්‍යාපීඨය<br>මීරිගම |

## පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැකසුම

| | | |
|---|---|---|
| ජේ. එච්. මනෝරිකා ප්‍රියංගනි<br>අමාලි සෙව්වන්දි ගුණසේකර<br>එස්. වී. ජී. එරංගා දිල්රුක්ෂි | - | පරිගණක අංශය<br>අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |



# පටුන




# මහපටැඟිල්ලක අරුමය

ඩබ්ලිව්. ටී. එම්. මහින්දරත්න මහතා රචනා කළ **බින්දුගේ ලෝකය (විද්‍යා දැනුම සංග්‍රහය)** පොතෙන් උපුටා ගත් මේ පාඩම, අපගේ ශරීර අවයවයක් වන මහපටැඟිල්ලේ තතු කියා දෙන්නකි. අපගේ එදිනෙදා කටයුතුවල දී මහපටැඟිල්ල ප්‍රයෝජනවත් වන ආකාරය සහ මහපටැඟිල්ල සකස් වී ඇත්තේ කෙසේ ද යන්න පිළිබඳ තොරතුරු රැසක් දැන ගැනීමට මේ පාඩම හොඳින් කියවමු.

සති අන්තේ නිවාඩුවට බින්දුලා ගමේ ගියා. ගමේ ගෙදර ආච්චිත් සීයාත් හරි ආසාවෙන් බලා ගෙන ඉන්නේ බින්දුලා මහ ගෙදර එනකල්.

තාත්තා මේ ගමන කවදා වත් වරද්දන්නේ නැහැ. තාත්තා හැමදා ම කියන්නේ මොන වැඩ තිබ්බත් අඩු ගණනේ මාසයකට සැරයක් වත් ගමේ ගිහින් එන්න ඕනෑයි කියලා.



'මාත් අම්මායි, තාත්තායි දෙන්නා ම හොඳට බලා ගන්නවා.'

බින්දුගේ මව්පියන් ආච්චිටයි, සීයාටයි සලකනවා දැක්කා ම බින්දුට එහෙම හිතුණා. එහේ ගියා ම ඒ දෙන්නාට හරි සතුටුයි. බින්දුයි, නංගියි ළඟට අරගෙන ආච්චියි, සීයායි ලස්සන කතන්දර කියලා දෙනවා; අමුතු අමුතු ප්‍රශ්න අහනවා.

"මගේ පුතාගේ අතේ ඇඟිලි කීය ද?"

"පහයි, සීයේ."

"මොනවා ද ඒවායේ නම්?"

“මේ තමයි සීයේ මහපටැඟිල්ල, මේ දබරැඟිල්ල, මේ මැදැඟිල්ල, මේ වෙදැඟිල්ල, පුංචි එක්කෙනා තමයි සුළැඟිල්ල.”

“බොහොම හොඳයි. දැන් කියමුකෝ බලන්න ඔය ඇඟිලි පහෙන් ලොක්කා කවුද කියලා.”

නංගි චුට්ටක් කල්පනා කළා. ඇඟිලි පහ දිහා බැලුවා; දිග, පළල බැලුවා.

“මැදැඟිල්ල තමයි ලොක්කා,” නංගි උත්තර දුන්නා.

“අපොයි නැහැ. එයා උසින් මහතින් වැඩි වුණාට ලොක්කා නෙවෙයි.”

“සීයේ, මම කියන්න ද? මිනිස්සු මොනවාට හරි දික් කරන්නේ දබරැඟිල්ල, දබරැඟිල්ල තමයි ලොක්කා,” බින්දු කිවුවා.

“නෑ, මගේ පුතේ. මෙන්න මෙයයි ලොක්කා.”

සීයා පෙන්නුවේ මහපටැඟිල්ල.



“ඒ කොහොම ද සීයේ? මහපටැඟිල්ල ඇඟිලි පහෙන් ම කොට ම ඇඟිල්ල නේ;”

“හොඳයි, අපි මෙහෙම කියමුකෝ. ඔන්න මම මේ පබළු ඇට බිමට දානවා. අහුලන්නකෝ බලන්න. හැබැයි මහපටැඟිල්ල නැතුව.”

සීයා පබළු ඇට දෙක තුනක් බිම දැම්මා. වැඩේ ලේසි වුණේ නැහැ. අහුලන්න අමාරුයි. ඊළඟට සීයා කිවුවේ හැරමිටිය අල්ලා ගන්න, මහපටැඟිල්ල නැතුව අල්ලලා අදින්න කියලා. ඒ වැඩෙත් හරියට කරන්න අමාරුයි. වැඩි බලයක් යොදන්න බැහැ. සීයා කෝටුවක් දීලා වැල්ලේ ලියන්න කිවුවා. බලන කොට ඒ වැඩෙත් මහපටැඟිල්ල නැතිව කර ගන්න අමාරුයි.

“හොඳයි, දැන් ඇඟිලි දිග අරින්නකෝ. මහපටැඟිල්ලේ තුඩ අනෙක් ඇඟිලිවල තුඩට තියන්නකෝ.”

බින්දු ඒ විදිහට කරලා බැලුවා. මහපටැඟිල්ලේ තුඩ අනෙක් ඇඟිලිවල තුඩුවලට ලේසියෙන් තියන්න පුළුවන්.

“දැන් ඒ වගේ කරන්න පුළුවන් ඕනෑ ම ඇඟිල්ලක් තෝරලා මට පෙන්වන්න. බින්දු තෝරා ගත්තේ දබරැඟිල්ල. මහපටැඟිල්ල ඇරෙන්න එක ඇඟිල්ලක තුඩක් වත් දබරැඟිල්ලට අල්ලන්න බැහැ. නංගි තෝරා ගත්තේ මැදැඟිල්ල. ඒත් එහෙමයි. වෙදැඟිල්ල හා සුළැඟිල්ලත් ඒ විදිහට ම තියලා බැලුවා. ඒ එකක් වත් තියන්න බැහැ.

“ඒ නිසයි පුතේ මම කිවුවේ මහපටැඟිල්ල තමයි ඇඟිලි පහේ ම ලොක්කා කියලා.”

බින්දු මේ මහපටැඟිල්ලේ අරුමය ගැන සිතා බැලුවා. මෙහෙම ගැටලුවක් ආවා ම බින්දු ඒ ගැන තොරතුරු හොයනවා; පොතපත කියවනවා; දන්න අයගෙන් විමසනවා.











අත්ලේ ඇට කැබලි හැදිලා තියෙන හැටි බින්දු සෝදිසි කළා. ඇට කැබලි 27ක් අත්ල පුරා විහිදිලා තියෙනවා. අත්ලේ මැද ඇට කැබලි 13යි. අනෙක් ඒවා ඇඟිලිවල තියෙන්නේ. මහපටැඟිල්ලේ ඇට කැබලි 2යි. අනෙක් හැම ඇඟිල්ලක ම ඇට කැබලි 3 බැගින් ඇට කැබලි 12ක් තියෙනවා. මහපටැඟිල්ල අත්ලේ ඇටවලට සවි වන තැන ටිකක් වෙනස්. ඉදිරියටත් පසුපසටත් විතරක් නොවෙයි, දෙපැත්තටත් ඒ ඇඟිල්ල සොලවන්න පහසුයි. ඒත් අනෙක් ඇඟිලි ඒ ආකාරයට සොලවන්න අපහසුයි.

යමක් තදින් අල්ලා ගන්න, වතුර බෝතලේ මූඩිය කරකවන්න, පැළයක් ගලවන්න වගේ දේවල් පහසුවෙන් කර ගන්න පුළුවන් මහපටැඟිල්ල නිසයි. ඒ විතරක් නොවෙයි, බිම වැටුණු යමක් ඇහිඳ ගන්නේ, පෑනකින් ලියන්නේ, පින්සලකින් අඳින්නේ, ඒ විදිහේ සියුම් වැඩ පහසුවෙන් කර ගන්නෙත් මහපටැඟිල්ල නිසයි.

(මහපටැඟිල්ල කොච්චර ලොක්කකු වුණත් හරියට වැඩක් කරන්න නම් එයාට අනෙක් ඇඟිලිවල උදවු ඕනෑ.)

## රස විඳිමු



දබරැඟිල්ල ඉස්සර වී මග පෙන්නනවා
මැද ඇඟිල්ල උසට උසේ මැදින් ඉන්නවා
ළඟ ම ඉඳන් වෙද ඇඟිල්ල මුදු පලඳිනවා
පුංචි වුණත් සුළැඟිල්ලත් පස්සෙන් එනවා

මහපටැඟිල්ලත් හොඳට ම මහන්සි වෙනවා
එකතු වෙලා අනෙක් ඇඟිලි උදවු කරනවා
ඇඟිලි පිරිස පහයි පහයි එක් රොක් වෙනවා
ආයුබොවන් කියා සැමට අසිරි පතනවා

ලක්ශාන්ත අතුකෝරල

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. 'බින්දුලා' යන්නෙන් අදහස් කරන්නේ කවුරුන් ද?
2. බින්දුලා ගමේ එන තුරු බලා ඉන්නේ කවුරුන් ද?
3. 'දබරැඟිල්ල තමයි ලොක්කා' කියලා බින්දු කිවුවේ ඇයි?
4. සීයා බින්දුට කෝටුවක් දී කරන්න කිවුවේ කුමක් ද?
5. සුළැඟිල්ලේ ඇට කැබලි කීය ද?
6. අනෙක් ඇඟිලිවලට වඩා මහපටැඟිල්ල සුවිශේෂ වන්නේ ඇයි?

## ක්‍රියාකාරකම

පහත සඳහන් පිලි ඇතුළත් වචන දෙක බැගින් පාඩමෙන් සොයා ලියන්න.

| දික් ඇදපිල්ල | දික් ඉස්පිල්ල | පාපිල්ල | කොම්බුව සහ ඇලපිල්ල |
|---|---|---|---|
| | | | |

## පැවරුම්

1. කණ්ඩායම් කිහිපයකට බෙදී, අතේ ඇඟිලි පහ සම්බන්ධ කවියක් හෝ කතාන්දරයක් නිර්මාණය කර පන්තියට ඉදිරිපත් කරන්න.

2. අත්වල ඇඟිලි භාවිත නොකර ලියන්නට සිදු වුවහොත් ඔබ කරන්නේ කුමක් ද? පන්තියේ යහළුවන් සමග සාකච්ඡා කර විසඳුම් ලැයිස්තුවක් සකස් කරන්න.




# පාර කියන අත්තම්මා

එකිනෙකා වෙත කරුණාව දක්වමින් උදවු උපකාර කිරීමෙන් ලෝකය වඩාත් සුන්දර තැනක් බවට පත් කර ගත හැකි ය. අන්‍යයන් වෙනුවෙන් සේවය කිරීම සඳහා අවශ්‍ය වන්නේ ඒ සඳහා ඇති කැමැත්ත හා කැපවීම පමණි. පාසල් දරුදැරියන් වෙනුවෙන් එබඳු අප්‍රමාණ මෙහෙවරක් ඉටු කරන අත්තම්මා කෙනකු අපි හඳුනා ගනිමු.



සතියේ දවස් පහ ම පාසල් යන අත්තම්මලා සිටිති. සිය දූ දරුවන්ගේ දරුවන් කැටුව නැවත පාසල් යන මේ අත්තම්මලා වගේ ම ලිලී අත්තම්මා ද දරුවන්ට ආදරේ ය. එහෙත් ඇය දිනපතා පාසලට එන්නේ ද යන්නේ ද තනිව ම ය. උදෑසන හයට පමණ පාසල අබිමුවට එන ඇය එතැන් සිට සිය දෛනික රාජකාරිය අරඹන්නී ය. ඇය නමින් ලිලී වයලට් ය. කෑගල්ලේ පරගම්මන ඇ උපන් ගම් පියසයි.

මේ 'ලිලී අම්මා' හෙවත් 'වයලට් ආච්චි' පාසලට පැමිණියේ අමුතු ම රාජකාරියකට ය. පොලීසියේ හෝ වෙනත් ආරක්ෂක අංශයක සේවාවක් නොවෙතත් නිල නොලත් එවැනි ම රාජකාරියක ඇය නියැලෙනුයේ ස්වේච්ඡාවෙන් ම ය. උදේ ම සේවයට එන ඇය, පාසලට එන දරුවන් ආරක්ෂිතව පාර මාරු කරවයි. පාසල් බස් රථ, වෑන් රථ මෙන් ම පාසලට ඉදිරියෙන් එහා මෙහා යන වෙනත් වාහන ද කඩිසරව හසුරුවාලයි.

දරුවන්ගේ රැකවරණය පතා විටෙක සිය දැඩි අණසක පතුරන ඇගේ මේ සේවය ඒ කාටත් පහසුවකි. ඕ තොමෝ දරුවන්ට මෙන් ම වැඩිහිටියන්ට ද මාර්ග නීති මතක් කර දෙයි. ඇතැම් නොහික්මුණු රියැදුරකුට තදින් අවවාද කරන්නට වුව ද ඇය නොපැකිළෙයි. එහෙත් දරුවන්ට කරුණාවෙන් මග පෙන්වයි.

සේවය ම සිය ‘රාජකාරිය’ කර ගත් මේ අපූරු අත්තම්මා වයස අවුරුදු අසූව ඉක්මවා තිබියදීත් විශ්‍රාම නොගත්තා ය. පුරා අවුරුදු හතළිහකට වැඩි කාලයක් ඇය එක දිගට දරුවන් වෙනුවෙන් කැප වූ මුත් මේ අත්තම්මාගේ රාජකාරියට මාසික වැටුප් නැත; කිසිදු දීමනාවක් නැත; පාසල පැවැත්වෙන සැම දවසක ම ඈ සුපුරුදු රාජකාරියේ ය. ප්‍රමාද වී පැමිණීම් හෝ කෙටි නිවාඩු ද නැත. උදේ හයේ සිට නවයයි තිහ වන තෙක් ද, දහවල් දොළහේ සිට සවස තුනයි තිහ වන තෙක් ද තමා ම සකසා ගත් කාලසටහනකට අනුව ඈ දිනපතා සේවයේ නියැලෙන්නී ය. අමතර සවස පන්ති හෝ ක්‍රීඩා පුහුණුවීම් ආදිය පැවැත්වෙද්දී සවස පහ පසු වන තුරු ඈ පාසලේ ගේට්ටුව ළඟ ය.



කෑගල්ල හෙට්ටිමුල්ල බණ්ඩාරනායක කනිෂ්ඨ විද්‍යාලය ළඟ 'රාජකාරියක' නියැලෙන මේ සොඳුරු මිත්තණියට කෑගල්ල පොලීසියෙන් ද බාධාවක් නැත. නිල කබායක්, වැස්සට අඳින කබායක් සේ ම තොප්පියක් ද පොලීසියෙන් ඇයට ලැබුණු තෑගි ය.

මේ ආච්චිට ආදරය කරන දරුවෝ සිය උපන් දිනවල දී කුඩා කේක් කෑල්ලක් ඉතුරු කර ගෙනැවිත් දෙති. දරුවන් ගැන සිතන මේ ආච්චි අම්මා ද කිසිදාක නිවාඩුවක් නො ගනියි.

"හිසේ ඇම්මක්, උණක් හෙම්බිරිස්සාවක් හැදුණත් කොත්තමල්ලි ටිකක් තම්බාගෙන බීලා මම වෙලාවට වැඩට එනවා. දරුවෝ මං එනතුරු බලාගෙන ඉන්නවා.''

ඇයගේ කැපවීම පුදුමාකාර ය! ඒ ඇය මේ සේවයට හදවතින් ම බැඳී සිටින නිසා විය යුතු ය. කිසිදු ප්‍රතිලාභයක් ලබා නොගෙන ඇය සිදු කරන මේ සේවාව සැබෑ ම ආදර්ශයක් වේ.

ඇයගේ මේ සේවයේ ආරම්භය ද අහම්බයකි. සිය එක ම දියණිය කෑගල්ල හෙට්ටිමුල්ල බණ්ඩාරනායක කනිෂ්ඨ විද්‍යාලයට ඇතුළත් කළ දා පටන් ඇය දිගට ම මේ පාසලට ආවා ය. දියණිය ඉපදී තෙමසක් ගත වත් ම සිය සැමියා මෙලොව හැර දා ගියෙන් ඇය දියණිය හදා වඩා ගත්තේ ද තනිව ම ය. ජීවිතයේ දී අත් විඳීමට වූ අනේකවිධ දුක් කම්කටොලු, ආර්ථික පීඩා මධ්‍යයේ වුව ද මේ දිරිය මාතාව සිය දියණිය ගැන පමණක් නො ව අනෙක් දරුවන් ගැන ද නිතර සොයා බැලුවා ය; පාර මාරුවන්නට උදවු කළා ය. දරුවන්ගේ ආරක්ෂාව වෙනුවෙන් එතුමිය නිරන්තරයෙන් වෙහෙසුණා ය. මච්චත් ගුණයෙන් අනූන ඇය සිය කාර්යය, යුතුකමක් කර ගත්තා ය.

සිය දියණිය, ඒ පාසලෙන් මැදි මහ විදුහලට ගිය ද 'ලිලී අම්මා' ඒ පාසල හැර දා නොගියා ය. ඇය ඒ 'රාජකාරිය' වෙනුවෙන් කොතෙක් සැදී පැහැදී සිටියේ ද යත් ඒ පාසලේ බොහෝ දරුවෝ පාර මාරු වීමට ඇය එනතුරු මග බලා සිටියහ. පාසලට යන එන රියැදුරු මහත්වරුන්ට මෙන් ම ගුරු දෙගුරු වැඩිහිටි කොයි කාට වුව ද ඇගේ සේවය විශාල පහසුවක් ම වී තිබේ. පාසලේ විදුහල්පතිතුමා ප්‍රමුඛ ගුරු මණ්ඩලයේ ආදරය හා ගෞරවයට ද නොමඳව ම පාත්‍ර වූයෙන් පාසල ඇයට තව තවත් ප්‍රියමනාප තැනක් ම විය. ඇයගේ රාජකාරියට කිසිවකුගෙන් බාධාවක් එල්ල නො වී ය.

ඔසරියෙන් හෝ රෙද්ද සහ හැට්ටයෙන් සැරසී පාසලට පැමිණ, කෙටි කබායක් උඩින් ඇඳ තොප්පිය ද දමා ගත් කල ඇගේ නිල ඇඳුම සම්පූර්ණ ය. රාජකාරියට ඔබින අපූරු පෞරුෂයෙන් ද, ප්‍රියමනාප සිනහවෙන් ද ඇය කාගේත් සිත් ගත්තා ය. කරුණාභරිත හදවතක් තිබුණේ වුව ද ඇය පෙනුමෙන් තේජවන්ත ය. පරම්පරා කීපයකට ම, ඇගේ ඒ ළෙන්ගතුකම්, තේජාන්විත පෙනුම මෙන් ම පෑ අණසක ද අමතක නොවනුයේ ඒ නිසා ම ය. හෙට්ටිමුල්ල බණ්ඩාරනායක කනිෂ්ඨ විද්‍යාලයෙන් ඉගෙනුම ලැබූ සිසු දරුවන් වැඩිහිටියන් වූ කල ද ඇය ඒ පාසල් ගේට්ටුව අසලට ම වී සිටියා ය. අවට ගම් වැසියෝ ද පාසලට එන යන රියැදුරෝ ද ඇයට බෙහෙවින් ම ආදරය කළහ. මේ ස්වේච්ඡා සේවයෙන් ඇය ලත් එක ම වරප්‍රසාදය ඔවුන්ගේ ඒ කෘතවේදිත්වය හා සෙනෙහස ම වන්නේ ය. ඒ නිසා ම ඇයගේ සේවය ඇගයුණු අවස්ථා ද විය.

කිසිදු ආර්ථික ප්‍රතිලාභයක් නොතකා මෙබඳු සේවාවක නියැලුණු මේ ආදරණීය අත්තම්මාට ස්ථිර ආදායමක් නො වී ය. 'සමෘද්ධි සහනාධාරය' හා රජයෙන් ලබා දෙන 'මහජන ආධාරය' හැරුණු කොට ඇයට ජීවත් වීම සඳහා වෙනත් ආදායමක් ද නො වී ය. අඩු පහසුකම් සහිත කුඩා නිවසක තනිව ම ජීවත් වුව ද ඇය එයින් කලකිරුණේ නැත. ඇය තම සේවය පිළිබඳ සිතා නිරන්තරයෙන් සතුටු වන්නී ය.

මිනිසාගේ පරම යුතුකම මිනිසාට සේවය කිරීම යැයි සිය ජීවිතාදර්ශයෙන් ම ප්‍රකට කළ මේ ජ්‍යෙෂ්ඨ පුරවැසි මාතාවගේ සේවය හෙට දවසේ සමාජයට පිවිසෙන අපට ද මග එළි දල්වන්නකි.

### රස විඳිමු



" මා කළ කාරිය කළ හැකි කිසිවෙක්  
ඇත්දැ" යි බැස යන හිරු නැගි පැනයක්  
" හිමියනි, මා හට කළ හැකි තරමක්  
කරනෙමි" පැවසී පොඩි මැටි පහනක්

රබීන්ද්‍රනාත් තාගෝර්  
පරිවර්තනය: කුසුම් දිසානායක

### අරුත් පැහැදිලි කිරීම

| | |
|---|---|
| අබිමුවට | ඉදිරියට |
| දෛනික | දිනපතා සිදු කරන |
| ස්වේච්ඡාවෙන් | තමන්ගේ කැමැත්ත අනුව |
| නොහික්මුණු | හික්මීමක් නැති/ විනයක් නැති |

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. පාර කියන අත්තම්මාගේ නම කුමක් ද?
2. ඇය ස්වේච්ඡාවෙන් ඉටු කළ රාජකාරිය කුමක් ද?
3. අත්තම්මාට පොලීසියෙන් ලැබුණු තෑගි නම් කරන්න.
4. අත්තම්මා ඉටු කරන සේවය වැදගත් වන්නේ ඇයි?
5. මේ පාඩමෙන් ලැබිය හැකි ආදර්ශ මොනවා ද?

## ක්‍රියාකාරකම්

1. **පහත දැක්වෙන නාම පද යොදා වගුව සම්පූර්ණ කරන්න.**

**අත්තම්මා/ ඔහු/ ඇය/ සීයා/ දැරිය/ රියැදුරා/ පොලිස් නිලධාරියා/ ගුරුවරිය/ ඕ තොමෝ/ සැමියා**

| ස්ත්‍රී ලිංග නාම පද | පුරුෂ ලිංග නාම පද |
|---|---|
| | |

2. ගැළපෙන ක්‍රියා පද පාඩමෙන් සොයා වාක්‍ය සම්පූර්ණ කරන්න.

i. අත්තම්මා වයස අවුරුදු අසූව ඉක්මවා තිබියදීත් විශ්‍රාම ....................

ii. ලිලී අම්මා ඒ පාසල හැරදා ......................

iii. ඇය දිගට ම මේ පාසලට ..........................

iv. මේ දිරිය මාතාව අනෙක් දරුවන් ගැන ද නිතර සොයා ...............

v. දරුවන්ගේ ආරක්ෂාව වෙනුවෙන් එතුමිය නිරන්තරයෙන් .................

## පැවරුම්

1. ස්වේච්ඡාවෙන් සමාජයට සේවයක් කළ පුද්ගලයන් පිළිබඳ තොරතුරු සොයා පන්තියෙහි ප්‍රදර්ශනය කරන්න.

2. පහත සඳහන් එක් එක් චරිතයෙන් ඔබට ලැබිය හැකි ආදර්ශ පිළිබඳ සොයා පන්තියට ඉදිරිපත් කරන්න.

   - රණතුංග කරුණානන්ද (ඔලිම්පික් ක්‍රීඩක)
   - ජයන්ති කුරුඋතුම්පාල (එවරස්ට් තරණය කළ කඳු නගින්නිය)

3. පාසල් දරුවකු ලෙස ඔබට ඉටු කළ හැකි ස්වේච්ඡා සේවා පිළිබඳ තොරතුරු පන්තියට ඉදිරිපත් කරන්න.



# 3 සමන් වැලේ මල්

මේ පාඩමට ඇතුළත් වන්නේ අරීසෙන් අහුබුදු සූරීන් පබැඳූ ගීතයකි. සී.ඩී. ෆොන්සේකා සහ ෂර්මිලා ෆොන්සේකා ගායනා කළ මේ ගීතයේ සංගීත නිර්මාණය ද සී. ඩී. ෆොන්සේකාගේ ය. පියකු හා දුවක අතර සිදු වන සංවාදයක් ගීතාත්මක ලෙස ඉදිරිපත් කෙරෙන මේ ගීතය රස විඳ එයින් කියවෙන අදහස විමසා බලන්න.

දුව:- සමන් වැලේ මල් ජයට පිපීලා
මුළු මිදුල මැ සුවඳයි - අපේ මේ
මුළු මිදුල මැ සුවඳයි

පියා:- හැම ගෙදර මැ මල් ජයට පිපේ නම්
ගම්මානෙ මැ සොඳුරුයි - දුවේ මේ
ගම්මානෙ මැ සොඳුරුයි

දුව:- ගමින් ගමට මල් කැකුළු පිපෙන විට
මගෙ රට හරි සුවඳයි - පියාණෙනි
මගෙ රට හරි සුවඳයි

පියා:- රටින් රටට සුව සුවඳ දුවන විට
මුළු ලෝකෙ මැ සුවඳයි - දුවේ මේ
මුළු ලෝකෙ මැ සුවඳයි

දුව:- සමන් මලක් වී පිපෙන්න ආසයි
මගෙ මේ ගේ මිදුලේ - පියාණෙනි
මගෙ මේ ගේ මිදුලේ

පියා:- සමන් වැලක් වී පිපෙන් දුවේ
ජීවිත මල් ගොමුවේ
පර වී හැළුණත් මිනිස් මලේ
පවතී සුවඳ ලොවේ



## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. මුළු මිදුල ම සුවඳවත් වන්නේ කුමක් නිසා ද?
2. ගීතයේ සංවාදය ඇති වන්නේ කවුරුන් අතර ද?
3. පියාගේ ප්‍රාර්ථනාව කුමක් ද?
4. 'මිනිසා මිය ගියත් කළ හොඳ ඉතිරි වේ' යන අදහස දැක්වෙන ගී පද දෙක උපුටා දක්වන්න.
5. මේ ගීතය ගැන ඔබට දැනෙන හැඟීම් විස්තර කරන්න.

## ක්‍රියාකාරකම

**කණ්ඩායම් දෙකකට බෙදී මේ ගීතය තාලයට ගායනා කරන්න.**

## පැවරුම

**සංවාද සහිත තවත් ගීත සොයා පන්තියට ඉදිරිපත් කරන්න.**

උදා :
- කියන්න සුළඟේ ඔබ කොහි සිට දෝ එන්නේ......
- මොනව ද මුත්තේ මොකද කරන්නේ ......
- සුළඟක් වී මං යනවා දුර අහසේ ඇවිදින්නට ......
- අක්කෙ ටිකක් ඉන්නකෝ......



# 4 කුරුලු මිතුරා

විද්‍යා ප්‍රබන්ධ යනු අභ්‍යවකාශය, වෙනත් ග්‍රහලෝකවල ජීවිතය ආදියෙහි තොරතුරු රැගත්, විද්‍යාව හා සම්බන්ධ අද්දැකීම් සහිත නිර්මාණ විශේෂයකි. මේ පාඩමට ඇතුළත් වන්නේ ආතර් සී. ක්ලාක් මහතා රචනා කළ විද්‍යා ප්‍රබන්ධයකි. එය සිංහල බසට පරිවර්තනය කළේ එස්. එම්. බන්දුසීල මහතා ය. **ඉර හඳ තරු** මැද ග්‍රන්ථයෙන් උපුටා ගත් මේ කතාව, විද්‍යාව හා තාක්ෂණයේ දියුණුව මෙන් ම ස්වභාව ධර්මය ද අප ජීවිතයට එක සේ වැදගත් වන ආකාරය පෙන්වා දෙන්නකි.

මගේ මතකයේ හැටියට අභ්‍යවකාශ මධ්‍යස්ථානයක සුරතල් සතුන් තබා ගැනීම තහනම් කරන නියෝගයක් කිසිදාක නොතිබුණේ එවැන්නක් අවශ්‍ය වේ යැයි කිසිවකු සිතුවේ නැති නිසයි. එවැනි නියමයක් තිබුණත් ඔල්සන් එය නොපිළිගන්නා බව මට විශ්වාසයි.

ස්කැන්ඩිනේවියානු ජාතික ඔල්සන් අපේ කණ්ඩායමේ සිටි දක්ෂ ම කෙනෙක්. ගුරුත්වය රහිත අවකාශයේ නිදහසේ පහළට වැටෙන යෝධ වානේ බාල්ක එක්තරා රටාවකට අනුව නියම තැනට සවි කරන ආකාරය මට පෙනුණේ කුඩා ළමයින් විවිධ කෑලි එකතු කර සෙල්ලම් බඩු සාදන්නා වගෙයි. එය ඉතා පරෙස්සමින් මෙන් ම සැලකිල්ලෙන් කළ යුතු දෙයක්. අනෙක් අතට අභ්‍යවකාශ ඇඳුමක් ඇඳ ගෙන වැඩ කිරීම එතරම් පහසු දෙයක් නොවෙයි. කෙසේ වෙතත් පොළොවෙහි උස ගොඩනැගිලි ඉදි කරන්නන්ට නැති එක් වාසියක් ඔවුන්ට තිබිණි. එනම් ඔවුන්ට අවශ්‍ය ඕනෑ ම වේලාවක තම නිර්මාණයෙන් ඈතට ගොස් ඒ දෙස බලන්නට පුළුවන් වීමයි.

ඔල්සන්ට සුරතල් සතකු අවශ්‍ය වූයේ ඇයි ද යන්න හෝ ඒ සතා ගෙනාවේ ඇයි ද යන්න මගෙන් අහන්න එපා. මානසික විද්‍යාඥයකු නොවන නිසා මට ඊට පිළිතුරු දිය නොහැකියි. එහෙත් ඔහුගේ තේරීම ඉතා ඥානාන්විත බව කිව යුතුයි. ක්ලැරිබෙල්ගේ බර ඉතා සුළු ප්‍රමාණයක් වූවා පමණක් නොව ඌට අවශ්‍ය වූයේ සුළු ආහාර ප්‍රමාණයක්. අනෙක් අතට වෙනත් සතුන් මෙන් ගුරුත්වය රහිත වීමේ තත්ත්වය නිසා ඈ බිය වූයේ නැහැ.

යානයේ කුරුල්ලකු සිටින බව මා දැන ගත්තේ දවසක් මගේ කාර්යාලයේ ගබඩා ලැයිස්තු පරීක්ෂා කරමින් සිටිද්දීයි. පිටුපසින් සංගීත නාදයක් ඇසුණත් මට සිතුණේ එය යම්කිසි ප්‍රකාශයක් කියායි. එහෙත් පුරුදු විදියට සංගීත රාවය නොනැවතුණු නිසා හිස ඔසවා බැලූ මා දුටුවේ මගේ කාමරේ ම සිටි ක්ලැරිබෙල් ය.



ක්ලැරිබෙල්, කහ පාට කැනේරි වර්ගයට අයත් කුඩා පක්ෂියෙක්. ඈ අහසේ රැඳී සිටියේ පිහාටුත් හකුළාගෙනයි. පුදුමයෙන් මා ඈ දෙස බලා සිටිද්දී ම ඈ කාමරයෙන් පිටතට ගියේ පෘථිවියේ කිසි ම පක්ෂියකු නොකරන ආකාරයට පසු පසට පියෑඹීමෙනුයි. ගුරුත්වය රහිත තත්ත්වයට ඈ ඉතා හොඳින් හැඩගැසී ඇති බව මේ නිසා මට පෙනුණා.

ඔල්සන්, ඈයගේ අයිතිකාරයා බව දින ගණනාවක් යන තුරු ම කීවේ නැහැ. ඉන් පසුව ඈයගේ අයිතිකරු කවුද යන්න වැදගත් නො වූයේ ඒ වන විට ක්ලැරිබෙල් කාගේත් සුරතලා වී තිබුණ නිසයි. ඔල්සන් කියා සිටියේ ඔහු ක්ලැරිබෙල් යානයට ගෙනාවේ ගුරුත්වය රහිත තත්ත්වයේ පක්ෂියකු හැසිරෙන ආකාරය පිළිබඳ දැන ගැනීමට තිබූ විද්‍යාත්මක කුතුහලය නිසා බවයි.

ක්ලැරිබෙල් හොඳින් වැඩුණා. පෘථිවියෙන් වැදගත් නිලධාරියකු මධ්‍යස්ථානයට පැමිණි අවස්ථාවල දී ඈ සඟවා තැබීම එතරම් පහසු වූයේ නැහැ. එකම ප්‍රශ්නය වූයේ අප ඈ සඟවන්නට තැත් කළ සමහර අවස්ථාවල ඈ වඩ වඩාත් ශබ්ද කිරීමයි. අභ්‍යවකාශ මධ්‍යස්ථානයක කුරුල්ලකු ඇතැයි සැක කරන්නේ කවුද?

අපි මේ වන විට පැය දොළහක් වැඩ කර, පැය දොළහක් විවේක ගත්තා. සදාකාලික හිරු එළියේ පාවෙන අපට රැයක් දවාලක් නොතිබුණත් යම්කිසි කාලසටහනකට වැඩ කිරීම පහසු වුණා. එදා උදේ හයට මා අවදි වූයේ තරමක හිසේ ඇම්මක් ඇතුවයි. රෑ තිස්සේ විකාර සිහින කීපයක් දුටු බවත් මට මතක තිබුණා. මා උදේ ආහාරයට යෑමට සූදානම් වූයේ දැඩි ලෙස අලස ගතියකින්. කෑම මේසයේ වැඩි කතාබහක් සිදු වූයේ නැහැ. එක පුටුවක් හිස්ව තිබුණා.

“ඔල්සන් කොහේ ද?” කියා ඇහුවේ මමයි.
“එයා ක්ලැරිබෙල් හොයනවා, වෙනදා සාමාන්‍යයෙන් ඔල්සන් අවදි කරන්නේ ඈයි.”

මම යමක් කීමට පෙර ඔල්සන් කාමරයට ආවා. කුමක් හෝ වරදක් සිදු වී තිබෙන බව ඔහුගේ මුහුණින් පෙනෙන්න තිබුණා. ඔහුගේ අතේ තිබුණේ කහ පිහාටු ගුළියක්.



"මොකද වුණේ" කියා අපි හැමෝම එකවර ඇසුවා.

"මම දන්නේ නැහැ. මම දකින කොට ඈ සිටියේ මෙහෙමයි."

"හොඳයි, මොකුත් කරන්න පුළුවන් ද කියලා බලමු," කියමින් ඈ අතට ගත් ඩන්කන්, කුරුල්ලා කනට ළං කළේ හදවත ගැහෙනවා දැයි බලන්නයි.

"මට නම් මොකුත් ඇහෙන්නේ නැහැ. එහෙත් ඒකෙන් ඔප්පු වෙන්නේ නැහැ ඈ මැරිලා කියලා."

"ඔක්සිජන් ටිකක් දීලා බලමු,"යි කවුදෝ කීවා. කොළ පැහැති ඔක්සිජන් සිලින්ඩරය ගෙනා අපි, මුහුණු වැස්මක් තුළට ඈ දමා ඔක්සිජන් යැවුවා.

අප කවුරුත් පුදුමයට පත් කරමින් ඈට පණ ආවා. මුහුණු වැස්ම ඉවත් කිරීමත් සමඟ ම ඈ වෙනදා මෙන් පියාසර කිරීමටත්, ගැයීමටත් පටන් ගත්තා.

"මට නම් මේක තේරෙන්නේ නැහැ. ඈට මීට කලින් කවදාවත් මෙහෙම දෙයක් වෙලා නැහැ," යි කීවේ ඔල්සන් ය.

ගත වූ මිනිත්තු කිහිපයේ දී ම මගේ මතකයේ යමක් සිදු වෙමින් තිබුණා. මට දැනුණේ මා තාමත් අඩ නින්දේ පසු වෙනවා වගෙයි. ඔක්සිජන් ටිකක් ආශ්වාස කළොත් හොඳ යැයි මට සිතුණා. එහෙත් ඔක්සිජන් සිලින්ඩරයට අත තබන්න කලින් මට සත්‍යය එක්වර ම අවබෝධ වුණා. අපේ ඉංජිනේරුවා දෙසට හැරුණු මම මෙහෙම කීවා.

"ජිම්, මේ වාතයේ මොකක් හරි වරදක් තිබෙනවා. ක්ලැරිබෙල්ට සිහි නැති වුණේ ඒකයි. ඒ දවස්වල පොළොව යට පතල් වැඩ කළ අය ඒවායේ වාතය හොඳ ද බලන්න ගෙන ගියේත් කුරුල්ලන්."

"මොන විකාරයක් ද? එකිනෙකින් ස්වාධීනව ක්‍රියා කරන පරිපථ දෙකක් මෙහි තිබෙනවා. එයින් එකකින් හරි අපට තොරතුරු සංඥාවක් ලැබෙන්න ඕනෑ."

එහෙත් දෙවැනි පරිපථය තව ම සම්බන්ධ කර නැති බව ඔහුගේ සගයකු මතක් කළ විගස ම ජිම් කාමරයෙන් පිට වුණා. මේ අතර අපි ඔක්සිජන් ආශ්වාස කරමින් විවිධ තර්ක ඉදිරිපත් කරන්න වුණා.

මිනිත්තු දහයකට පමණ පසු ආපසු පැමිණි ජිම් සිදු වී ඇති දෙය විස්තර කරන්න වුණා. ඊයේ රෑ පෘථිවියේ ඡායාව අපේ මධ්‍යස්ථානයට වැටීම නිසා වායු පිරිසිදු කරන උපකරණය ක්‍රියාත්මක වී නැහැ. ඩොලර් කෝටි ගණනක් වටිනා රසායනික හා ඉලෙක්ට්‍රොනික උපකරණවලට අපට අනතුරු අඟවන්න බැරි වුණා. ක්ලැරිබෙල් නොසිටින්න අප සියලු දෙනා ම මෙලහකටත් මිය ගිහින්.

දැන් අභ්‍යවකාශ මධ්‍යස්ථානයක දී ඔබට කුරුලු ගී හඬක් ඇසුණොත් ඒ ගැන පුදුම වන්න එපා. එයින් කියවෙන්නේ අමතර වියදමක් නැතිව තවත් ආකාරයකින් ඔබ ආරක්ෂා වී ඇති බව පමණයි.

## අරුත් පැහැදිලි කිරීම

| | |
|---|---|
| අභ්‍යවකාශ මධ්‍යස්ථානය | පෘථිවියේ වායුගෝලයෙන් බැහැර රඳවා ඇති, උඩු ගුවන හා ග්‍රහ වස්තු ආදිය පිළිබඳ පර්යේෂණ කරන ස්ථානය |
| ස්කැන්ඩිනේවියානු රටවල් | ඩෙන්මාර්කය, නෝර්වේ, ස්වීඩනය, පින්ලන්තය, අයිස්ලන්තය |
| පරිපථය | යම්කිසි නිශ්චිත කාර්යයක් ඉටු කරවනු පිණිස සියුම් විද්‍යුත් උපාංග පෙළගස්වන ලද පද්ධතිය |
| එකිනෙකින් ස්වාධීනව | තවත් දෙයකින් පාලනය නොවන |

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. අභ්‍යවකාශ මධ්‍යස්ථානයට ක්ලැරිබෙල් ගෙනාවේ කවුද?
2. ඒ පක්ෂියා අභ්‍යවකාශ මධ්‍යස්ථානයට ගෙනාවේ ඇයි?
3. ඇයට සිහි නැති වූයේ කුමක් නිසා ද?
4. පෘථිවියේ ඡායාව අභ්‍යවකාශ මධ්‍යස්ථානයට වැටීම නිසා සිදු වූයේ කුමක් ද?
5. ක්ලැරිබෙල්ගෙන් අභ්‍යවකාශ මධ්‍යස්ථානයට සිදු වූ සේවය විස්තර කරන්න.

## ක්‍රියාකාරකම

**හිස්තැනට ගැළපෙන පදය වරහන් තුළින් තෝරා වාක්‍ය සම්පූර්ණ කරන්න.**

**(ඈ, ඔහු, ඌ, ඔවුහු)**

1. ඔල්සන් ස්කැන්ඩිනේවියානු ජාතිකයෙකි. .................. අභ්‍යවකාශ මධ්‍යස්ථානයේ සේවය කළේ ය.
2. ක්ලැරිබෙල් කැනේරි වර්ගයට අයත් කිරිල්ලකි. .............. අහසේ රැඳී සිටියේ පිහාටුත් හකුළාගෙන ය.
3. අභ්‍යවකාශ මධ්‍යස්ථානයේ සේවය කරන්නෝ ගුරුත්වය රහිත අවකාශයේ ගොඩනැගිලි තනති. ................... අභ්‍යවකාශ ඇඳුම් ඇඳ සිටිති.
4. අභ්‍යවකාශ මධ්‍යස්ථානයක පක්ෂියකු සිටිය හැකි ය. ............. අමතර වියදමක් නැතිව ආරක්ෂාව සපයනු ඇත.

## පැවරුම

**ඔබ ක්ලැරිබෙල් යැයි සිතා පන්තිය ඉදිරියේ කතාවක් කරන්න.**



# 5 බසෙහි රස

භාෂා හැකියාව මිනිසාට හිමි වූ සුවිශේෂ දායාදයකි. භාෂා භාවිතයෙන් අදහස් රසවත් ලෙස ප්‍රකාශ කළ හැකි ය. පොතපත කියවීමෙන් හා එකිනෙකා අතර අදහස් හුවමාරු කර ගැනීමෙන් අප දන්නා වචන ප්‍රමාණය හෙවත් වාක්කෝෂය වඩාත් වර්ධනය කරගත හැකි ය. අපේ අදහස් වඩාත් රසවත් ලෙස ඉදිරිපත් කළ හැක්කේ ඒ වචනවල අර්ථය හොඳින් අවබෝධ කර ගැනීමෙනි. මහාචාර්ය ජේ.බී. දිසානායක මහතා ලියා ඇති මේ ලිපිය කියවමු. එය සකස් කර ඇත්තේ එතුමාගේ **කිව්වම මොකද** ග්‍රන්ථය ඇසුරෙනි.

ඈ නිවාඩුවට ගමට ගියා ය. ඇගේ ගම මාතරයි. ඇගෙන් කිසි ම ආරංචියක් නොලත් ඇගේ යෙහෙළිය මඳක් කලබල වූවා ය. ඈ නිවාඩුවෙන් පසු කොළඹ සරසවියට ආ දා ඇයගේ යෙහෙළිය ඇගේ නිහඬතාව ගැන විපරම් කළා ය. “ගියදාට පහුවදා ම මං ලියුමක් දෑවා” යැයි ඇය තරයේ කියා සිටියා ය. “ලියුම දෑවා? පුදුමයක් ය හම්බ නූණු එක” යෙහෙළිය විහිළු කළා ය.

දකුණු පළාතේ ‘දෑවා’ යැයි කියන්නේ ‘දැම්මා’ යන අරුතිනි. ලියුමක් ‘දැම්මා’ යැයි කියනු වෙනුවට ඔවුන්ගේ මුවින් පිට වන්නේ ‘ලියුමක් දෑවා’ යන වහරයි. මේ වෙනසට හේතුව මේ සඳහා දෙපිරිස පදනම් කොට ගන්නා ක්‍රියා පද දෙකේ වෙනස යි. මින් එක් පිරිසක් **‘දැම්මා’** යන අතීත ක්‍රියා පදය සාදා ගන්නේ **‘දමනවා’** යන ක්‍රියා පදය අනුසාරයෙනි.

දකුණු පළාතේ ‘දෑවා’ යන ක්‍රියා පදය සාදා ගන්නේ **‘දානවා’** යන ක්‍රියා පදය අනුසාරයෙනි. ‘කනවා’ යන්නෙන් ‘කෑවා’ යන්න ද, ‘ගානවා’ යන්නෙන් ‘ගෑවා’ යන්න ද, ‘නානවා’ යන්නෙන් ‘නෑවා’ යන්න ද, ‘හානවා’ යන්නෙන් ‘හෑවා’ යන්න ද සාදා ගන්නා රටාවෙන් ම ‘දානවා’ යන්නෙන් ‘දෑවා’ යන්න ද සෑදේ. **‘දමනවා’** හා **‘දානවා’** යන ක්‍රියා පද අද බෙහෙවින් ම යෙදෙන්නේ සමාන අර්ථයෙනි.

**'දානවා'** යන්නෙහි එක් මූලික අර්ථයක් වන්නේ කිසිවක් යමක් ඇතුළට පිවිසවීමයි. සාක්කුවට **අත දානවා**, කැටේට **සල්ලි දානවා**, **මිනිය වළ දානවා** යැයි කියන විට මෙනි. තමාගේ සාක්කුවට **'අත දා ගත්තාට'** ප්‍රශ්නයක් නැති වුවත් අනුන්ගේ සාක්කුවලට **'අත දාන්ට'** යෑමෙන් හෝ අනුන්ගේ වැඩවලට **'අත දාන්ට'** යෑමෙන් නොයෙක් කරදරවලට මුහුණ දෙන්නට සිදු විය හැකි ය. අනුන්ගේ වැඩවලට **'කට දාන්ට'** යෑම ද පරිස්සමින් කළ යුත්තකි. අනාරාධනයෙන් කතා බහට එක් වීම **'කට දානවා'** යන්නෙන් අදහස් කෙරේ.

මිනිසුන්ට හොටක් නැතත් ඔවුන්ට **'හොට දාන්ට'** බාධාවක් නැත. **'මමත් පොඩ්ඩක් හොට දාලා එන්නං'** යැයි කියමින් ඇතැම් අය නොයෙක් තැන්වලට යති. **'හොට දානවා'** යන්නෙන් අදහස් කරන්නේ මූණිච්චාවට මෙන් යමකට යන්තමින් සහභාගි වීමයි.

මල් පාත්තියකට **'වතුර දානවා'** යන්න **'මාලෙ වතුරෙ දානවා'** යන්නට වඩා වෙනස් අරුත් නගන්නකි. රත්තරන් ආභරණ කලින් කලට ඔපවත් කරනු පිණිස කාන්තාවන් කරන එක් දෙයක් නම් ඒවා **වතුරෙ දැමීමයි.** මේ සඳහා **'පලිප්පු දානවා'** යන වහර ද යෙදේ. **'පලිප්පු දාන'** විට ආභරණ ඔපවත් වන්නා සේ යම් යම් කතා බහ ඔපවත් කිරීමට ද සමහරු ඒවාට **'පලිප්පු දමන්ට'** අමතක නොකරති.



ගංවතුර කාලයට ද '**වතුර දානවා**' යන වහර යෙදේ. මේ පාර ගංවතුර හරි සැරයි. මෙගොඩටත් '**වතුර දානවා**' යැයි කිසිවෙක් කියයි. එයින් අදහස් කරන්නේ මෙගොඩටත් වතුර ගලා එන බවයි. වැවක වතුර වානට උඩින් පිට වීම **වාං දානවා** යන්නෙන් ගැනේ.

ළිපට මෙන් ම '**ඇවිළෙන ගින්නට ද පිදුරු දාන්ට**' සමහරු හපන්නු ය. '**ඇවිළෙන ගින්නට පිදුරු දානවා වාගේ**' යන පිරුළින් අදහස් කරන්නේ දැනටමත් උග්‍ර වී ඇති ප්‍රශ්නයක් තව තවත් උග්‍ර කිරීමයි.

'**බෙත් දාන්නේ**' තුවාලවලටයි. '**තෙල් දාන්නේ**' හිසටත් තාච්චිවලටත් ය. '**ඉස කුඩිච්චි දාන්නේ**' හිසේ අමාරු නැති කර ගන්නට ය.

'**තාර දාන්නේ**' පාරට ය. '**පෝර දාන්නේ**' පාත්තිවලට පමණක් නොවේ. සමහරුන්ගේ කතා බහටත් '**පෝර දාන්ට**' සමහරු සූදානමින් සිටිති. එනම් ඒ කතා බහ තව තවත් අවුළුවන්නට ය. වත්තට '**පෝර දාන්ට කලින්**' එහි '**කානු දාන්ට**' අවශ්‍ය බව ද වතු හිමියෝ කියති. '**කානු දානවා**' යනු කානු කැපීමයි.

'**පත්තරේ දානවා**' යයි කීමෙන් අදහස් කෙරෙන්නේ **පළ කරනවා** යනුයි. පත්තරයක දැන්වීමක් පළ කිරීම '**දැන්වීමක් දානවා**' යනුවෙන් ද යෙදේ. සමහරුන්ට රහසක් කී විට එය '**පත්තරේ දැම්මාටත් වැඩිය**' හපන් ය. පත්තරේක දැන්වීමක් දැමූ විට ඊට '**ඉල්ලුම් පත්‍ර දාන්ට**' ද සමහරු පුල පුලා බලා සිටිති.

යමක් ආරම්භ කරනවා යන අර්ථය ද '**දානවා**' යන්නෙහි තිබේ. අලුතින් '**කඩයක් දාන්ට**' හෝ '**සාප්පුවක් දාන්ට**' සිතන විට මෙනි. අලුතින් දාපු සාප්පුවට සෙනඟ ඇද ගන්ට නම් එය පුරා ම '**ලයිට් දාන්ට**' ඕනෑ ය.

'**යමක් පවත්වනවා**' යන අර්ථය දීමට ද '**දානවා**' යන පදය යෙදේ. '**පාටියක් දානවා**' යැයි කියන විට මෙනි. සමහරු පඩි ගත් දවසේ සිට ම '**සීට්ටු දාන්ට**' අමතක නොකරති. සමහරුන් සිතන්නේ සල්ලි පොතේ දානවාට වඩා '**සීට්ටු දැමීම**' ලාභදායක බවයි.

'**පලඳිනවා**' යන අර්ථය දීමට '**දානවා**' යන පදය යෙදෙන සැටි '**සපත්තු දානවා**', '**මේස් දානවා**', '**කන්නාඩි දානවා**' වැනි වහරකින් තහවුරු වේ. '**කෝට් දානවා**' නම් හෝ '**ටයි දානවා**' නම් '**සෙරෙප්පු දාලා**' හරියන්නේ නැත. සපත්තු මේස් දාන්ට ම වුවමනා ය.

**'හීන් දාඩිය දානවා,** යනු බියට පත්වීමයි. පොලිස් නිලධාරියකු දුටු විට හොරුන්ට හීන් දාඩිය දමන බව අමුතුවෙන් කිව යුතු නොවේ.



සෙල්ලම් කරනවා යන අරුත ද **'දානවා'** යන්නෙහි ගැබ් වේ. සිංහල අලුත් අවුරුදු කාලයට **'පංච දාන්ට'** හෝ **'පංචි දාන්ට'** දරුවෝ ආශාවෙන් බලා සිටිති. **'පංච දැමීම'** උඩරට පළාත්වල හැඳින්වෙන්නේ **'දොළහ දානවා'** හෝ **'බෙල්ලෝ දානවා'** යනුවෙනි.



සමහර අසනීප හැදී ගෙන එන විට **'දාඩිය දාන්ට'** හෝ **'සෙම දාන්ට'** පටන් ගැනේ.

මේ අයුරින් එක ම වචනය විවිධ අර්ථවල යෙදෙන අවස්ථා එදිනෙදා ව්‍යවහාරයේ දී හඳුනා ගත හැකි ය.

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. දකුණු පළාත් ව්‍යවහාරයෙහි දෑවා යන වචනයෙන් අදහස් කරන්නේ කුමක් ද?
2. වාං දානවා යනුවෙන් හඳුන්වන්නේ කුමක් ද?
3. උග්‍ර වී ඇති ප්‍රශ්නයක් තව තවත් උග්‍ර කරන අවස්ථාවක් සඳහා යෙදිය හැකි ප්‍රස්තාව පිරුළක් සඳහන් කරන්න.
4. හීන් දාඩිය දානවා යනුවෙන් අදහස් කරන්නේ කුමක් ද?
5. පංච දැමීම උඩරට ප්‍රදේශයේ හඳුන්වන්නේ කෙසේ ද?

## ක්‍රියාකාරකම්

**1. පහත සඳහන් 'අ' කොටසෙහි යෙදුමෙන් දෙන අදහස 'ආ' කොටසින් තෝරන්න.**

| අ | ආ |
| --- | --- |
| 1. හීන් දාඩිය දැම්මා | 1. ඉටු කර ගත නොහැකි දේ සිතීම |
| 2. අහසේ මාලිගා තනනවා | 2. දුකට පත් වීම |
| 3. අබ මල් රේණුවක් | 3. ඉතා ස්වල්පයක් වත් |
| 4. ඇඟ බේරා ගන්නවා | 4. මහත් බියට පත්වීම |
| 5. මුරුංගා අත්තේ තියනවා | 5. පමණ ඉක්මවා වර්ණනා කිරීම |
| | 6. වගකීමෙන් මඟහැර යෑම |

2. පහත සඳහන් ප්‍රස්තාව පිරුළුවල හිස්තැනට සුදුසු වචන වරහන් තුළින් තෝරා ලියන්න.

(ඉනි, මිදි, ඉබ්බා, පොත, ගම්පළයයි, නුවණ)

1. නරියා ................ තිත්තයි කිවුවා වගේ.
2. කට නිසා .............. නැහුණා වගේ.
3. මහදැනමුත්තාගේ ..................... වගේ.
4. රයිගමයයි .................. වගේ.
5. ගඟට ................. කැපුවා වගේ.

## පැවරුම

'අපේ අවුරුදු ජන ක්‍රීඩා' යන මාතෘකාව යටතේ රචනයක් ලියන්න.

### රස විඳිමු



උගන්නෑ සිය බස
මත් වන්නෑ එහි රසයෙන්
දකින්නෙ'හි මහඟු බව
කියෑ දෙන්නෑ අනුනටත්

කුමාරතුංග මුනිදාස



# 6 මල් සිරි සිරි සිසිරි සිසිරි

රාජ්‍ය සාහිත්‍ය සම්මානය හිමි වූ **සෙනසුරාගෙ අපල කාලෙ** නම් වූ ළමා සාහිත්‍ය කෘතිය ජයරත්න සමරසේකර මහතාගේ නිර්මාණයකි. එය රචනා වී ඇත්තේ සීයා කෙනකු ළමයින්ට කතාන්දරයක් කියා දෙන ආකාරයට ය. කවි සංවාද ඇසුරෙන් කතාව ඉදිරිපත් කෙරෙන මෙහි ප්‍රධාන චරිතය වන්නේ වස්තුහාමි නම් ගමරාලයි.



(සිතුවම:- ජයරත්න සමරසේකර)

කාර්යශූර ගොවියකු වූ වස්තුහාමි ධනවත් පුද්ගලයෙකි. දිනක් නැකැත්රාල කෙනෙක්, වස්තුහාමිට ඉදිරියේ දී අයහපත් කාලයක් උදා වන බව පවසයි. එය අසා කම්පාවට පත් වූ වස්තුහාමි කිසිදු කාර්යයක නිරත නොවී අලසව සිටීම නිසා ඔහුගේ වගා බිම් ආදිය විනාශ වී යයි. ඒ හේතුවෙන් ඔහුගේ ධනය පිරිහෙයි.

වස්තුහාමිගේ මිතුරකු වන නරිනයිදේ කෙනෙක් ඔහුගේ මේ වෙනස දකී. මිතුරු නරිනයිදේ වස්තුහාමිට පවසන්නේ අයහපත් කාලය ගැන නොසිතා වෙහෙස වී වැඩකටයුතු කිරීම සුදුසු බවයි. ඒ අදහස පිළිගත් වස්තුහාමි යළිත් පෙර පරිදි ම වෙහෙස වී වගා කටයුතු හොඳින් සිදු කර ධනවතකු බවට පත් වෙයි. වස්තුහාමිගේ උත්සාහය නිසා යළිත් එල දරා සරුසාර වුණු ගොවි බිම්වල චමත්කාරය පහත පැදි පෙළෙන් නිරූපණය වේ. අලසකම දුරු කොට උත්සාහයෙන් හා වෙහෙස වී වැඩකටයුතු කළ හොත් ජීවිතය ජය ගත හැකි බව මෙම පාඩමෙන් කියවේ.

වස්තුහාමි: මල් සිරි සිරි
සිසිරි සිසිරි
මල් වරුසා වහින්නේ

කුඹුර කලල් කර ගන්ඩයි
මේ මල් වැහි වහින්නේ

ඒ මල් වැස්සේ තෙමි තෙමි
පැළපත රැළි නඟනවාය
බණ්ඩි ඇදී කිරට හැරී
කරල් බිමට නැවෙනවා ය

ඉර අහසේ ඹමරි පපා
හිනා කැරලි හෙළන්නේ
ජයට සැදී කිරි කුරහන්
පීදෙන හැටි බලන්නේ

මෑ - මුං - තල - අමු - මෙනේරි
හිනැහෙන කොට අත වන වන
මගේ සතුට නළියනවා
හිත ඇතුළේ උඩ පැන පැන

තක්කිට තරිකිට තරිකිට
ගෙයි අටු කොටු පිරෙයි පිරෙයි
වක්කඩ කැඩුවා විලසට
සතුට දෝර ගලයි ගලයි

සීයා: වස්තුහාමි ගමරාලගෙ
අටු කොටු ඉතිරෙන වස්තුව
නිධානෙකින් ලැබිල නෙමෙයි
දෙයියො ගෙනත් දීල නෙවෙයි



ගම මැද්දෙන්
හොර හිතකින්
සඟවා ගෙන ගෙනත් නෙමෙයි

සිනා සිසී සීදේවිය
ගේ තුළ සැරිසරන්නේ
සිනා කැකුළු මල් ඉහිරී
මිදුලට අතු නැමෙන්නේ

යලට මහට වැඩ කෙරුවා
ඇඟපත දහඩිය හෙළුවා
අස්වනු අටු කොටු පිරිලා
වස්තුව ගේ තුළ පිරුණා



**නරි නයිදේ:** කලට යලට වැඩ කෙරුවොත්
කුසීතකම දුරු කෙරුවොත්
නුවණ කල්පනා කෙරුවොත්
නෑ වරදිනු කවදාවත්

### අරුත් පැහැදිලි කිරීම

| | |
|---|---|
| කලල් කර ගන්ඩ | මඩ කර ගන්න |
| පැළපත | පැළ ගොයම |
| බණ්ඩි ඇදී | පිදී ගෙන එන/ බඩක් මෙන් මතු පිටට හෝ ඉදිරියට නෙරූ |
| වක්කඩ | කුඹුරක වැඩි ජලය බැස යාමට නියරෙහි කපන කපොල්ල |
| ඔමරි පාන | අඟර දඟර පෑම/ඉඟි බිඟි පෑම/උසුළු විසුළු පෑම |
| යලට මහට | ශ්‍රී ලංකාවේ ගොවිතැන් කරන ප්‍රධාන කාල පරිච්ඡේද දෙක - යල කන්නය හා මහ කන්නය |

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. මල් වැහි වහින්නේ කුමක් සඳහා ද?
2. හිනා කැරලි හෙළන්නේ කවුරුන් ද?
3. සතුට දෝරේ ගලන ආකාරය කවියේ දක්වා ඇත්තේ කෙසේ ද?
4. වස්තුහාමි ගමරාලට අටු කොටු ඉතිරෙන්න වස්තුව ලැබුණේ කෙසේ ද?
5. මෙහි සඳහන් ධාන්‍ය වර්ග මොනවා ද?

## ක්‍රියාකාරකම්

**1. සමාන තේරුම් දෙන වචන කවි පන්තියෙන් සොයා ලියන්න.**

i. කෙත ii. සූර්යයා
iii. කම්මැළි iv. ඥාතය
v. ප්‍රීතිය

2. සුදුසු ක්‍රියා පදය වරහන් තුළින් තෝරන්න.

i. මල් වැහි .............. (වසියි/ වසිති)

ii. කිරි කුරහන් ............. (පීදෙයි/ පීදෙති)

iii. ගෙයි අටු කොටු ............ (පිරෙයි/ පිරෙති)

iv. සතුට දෝරේ ........... (ගලයි/ ගලති)

v. මිදුලට අතු .......... (නැමෙයි/ නැමෙති)

## පැවරුම්

1. මේ පද්‍ය පන්තියෙහි එක ම වචනය එක ළඟ දෙවරක් යෙදුණු අවස්ථා මොනවා ද?

උදාහරණ : සිරි සිරි

2. මේ පද්‍ය පන්තිය ගායනා කරන්න.

**සිතමු**



"ගින්න බල සම්පන්න ය; ජලය ගින්නට වඩා බලසම්පන්න ය; පෘථිවිය ජලයට වඩා බල සම්පන්න ය; මිනිසා ඒ සියල්ලට ම වඩා බලසම්පන්න ය"

තරු මග

වයි. ගගාරින්

පරිවර්තනය: ඊ. ආර්. එරත්න

(තරු මග, ප්‍රථම අභ්‍යවකාශ යාත්‍රිකයා වූ යූරි ගගාරින්ගේ ජීවිත කතාව හා ඔහුගේ වීර ගගන චාරිකාව පිළිබඳ විස්තරයකි.)



# 7 සියැටල්ට සවන් දෙමු

සොබාදහම හා මිනිසා අතර ඇති අපූරු බැඳීම පිළිබඳ විශිෂ්ට අදහස් දැරූ නායකයෝ ලොව සිටියහ. ශ්‍රේෂ්ඨ රතු ඉන්දීය නායක සියැටල්ගේ නාමය අදත් අපට සිහිපත් වනුයේ ඔහුගේ ඒ අදහස් හා ආකල්ප නිසා ම ය. සොබාදහම පිළිබඳ ඔහුගේ ගෞරවය සහ ආදරය ඒ අදහස්වලින් ප්‍රකට වේ. එවක ඇමෙරිකානු ජනාධිපතිතුමා වූ ජැක්ලින් පියස්, රතු ඉන්දීයයන්ගේ භූමිය ඇමෙරිකානු රජයට විකුණන ලෙස ඉල්ලීමක් කළේ ය. ඊට පිළිතුරු වශයෙන් ක්‍රිස්තු වර්ෂ 1854 මාර්තු 04 වැනි දින සියැටල් කළ විශේෂ ප්‍රකාශයෙන් උපුටා ගත් අදහස් කිහිපයක් මේ පාඩමට ඇතුළත් වේ.

**"සුගන්ධවත් පුෂ්පයෝ අපගේ සොහොයුරියෝ ය. පිනි මුවා, අශ්වයා, මහ රාජාලියා මේ සියල්ලෝ ම අපේ සහෝදරයෝ වෙති. ගිරි ශිඛර ද තණ බිම්වල තෙතමනය ද පෝනියාගේත් මිනිසාගේත් සිරුරේ උණුසුම ද යන මේ සියල්ල එක ම පවුලකට අයත් වන්නේ ය."**



සතුන් වගේ ම ගංගා, කඳු මුදුන්, මල්, තණපත්, සුළං අපේ ම සහෝදර සහෝදරියෝ නොවන්නෝ ද? සත්තු, තුරුලිය මිනිස්සු යන අපි සියලු දෙනා ම එක ම ප්‍රාණ වායුව හවුලේ බෙදා ගන්නා එක ම පවුලේ අය නොවෙමු ද? සැබවින් ම එය සිතා බැලිය යුත්තකි.

මේ ඓතිහාසික ප්‍රකාශනයේ දී පරිසරය පිළිබඳ සියැටල් දැක්වූ තවත් අදහස් කිහිපයක් වෙත අපි අවධානය යොමු කරමු.

**"නිල් අහසත් පොළොවේ උණුසුමත් විකිණීම හෝ මිල දී ගැනීම සඳහා වූ ඔබේ අදහස අපට නුහුරු වන්නේ ය. සුළඟේ නැවුම් බව හෝ ජලයේ කාන්තිය අපට අයිති නොවේ නම් ඒවා මිල කිරීමට හෝ මිල දී ගැනීමට ඔබට හෝ අපට හැකියාවක් නැත."** ඔහුගේ ඒ වදන්වල දෝංකාරය අදටත් අපට ඇසෙන්නා සේ ය.

**"මේ මිහිතලයේ සැම බිම් අඟලක් ම මගේ පරපුරට ශුද්ධ වූ වස්තුවකි. දිලිසෙන දේවදාර ගසක සැම කිනිත්තක් ම වැලිතලාවලින් පිරී ගිය සැම වෙරළක් ම අඳුරු වනාන්තරවල තිබෙන සැම මිහිදුම් වලාවක් ම, සිහින් හඬින් ගී ගයන සැම කුඩා ප්‍රාණියෙක් ම මගේ මිනිසුන්ගේ මතකයේ හා අද්දැකීම් සමුදායේ පූජනීය වූ වස්තූහු වන්නෝ ය. ගස් අතුරින් විහිදී යන සැම අඩි පාරක් ම මිනිසා පිළිබඳ ස්මරණය රැගෙන යන්නේ ය. අප මිහිතලයේ කොටසක් වන අතර ම මිහිතලය ද අපගේ ම කොටසකි,"** සියැටල් තවදුරටත් ප්‍රකාශ කරයි.

සියැටල් නාමය සදාකාලික වීරත්වයෙන් පිදුම් ලබන්නේ පරිසරය සහ සොබා දහම සම්බන්ධයෙන් ඔහුගේ මේ ශ්‍රේෂ්ඨ චින්තනය නිසා ම ය. තාක්ෂණයට වඩ වඩාත් සමීප වූ නූතන මිනිසා අද නැවත ගම් දනවු හා වනාන්තර සොයා ඇදෙන්නේ මේ සත්‍යය නැවත අවබෝධ කර ගත් නිසා ය. සදාකාලික වීරයකු වූ සියැටල් නම් රතු ඉන්දීය නායකයාගේ ඓතිහාසික කතාව එදා මෙන් ම අදට ද වැදගත් ය.

**" ගංගාවෝ අපගේ සොහොයුරෝ වෙති. ඔවුහු අපගේ පිපාසය සංසිඳවති. අපගේ ඔරු ද පාරු ද ගෙන යති. අපගේ දරුවන් පෝෂණය කරති. අප මේ භූමිය ඔබට විකුණුව හොත් මේ ගංගාවන් අපගේත් ඔබගේත් සහෝදරයන් බව අමතක නොකරනු මැනවි. ඔබේ දරුවන්ට ද එය කියා දෙනු මැනවි. එතැන් සිට වෙනත් ඕනෑ ම සහෝදරයකුට දක්වන කරුණාව ගංගාවලට ද දක්වනු මැනවි."** සොබාදහමට අප වඩාත් ළං විය යුතු බව මෙන් ම සොබාදහමේ නේකවිධ වස්තු අප දිවිහිමියෙන් රැක ගත යුතු බව ඔහු පවසයි.

"උලමා ගයන හුදෙකලා ගීතය හෝ රාත්‍රියේ පොකුණක් අසබඩ මැඩියන්ගේ තර්ක විතර්ක වැනි දෑ ද ඇසීමට නොලැබෙන ජීවිතයේ හරයක් ඇත්තේ ද? ජීවිතය නමැති දැල මිනිසා විසින් වියන ලද්දක් නොවේ. ඔහු එහි නූල් පටක් පමණි. මිනිසා ඒ දැලට යම් හානියක් කරතොත් ඒ තමාට ම කර ගන්නා උපද්‍රවයකි."



"අන්තිම රතු මිනිසාත් මේ පොළෝතලෙන් අතුරුදන් වූ විට, ඔවුන්ගේ මතකය තණ බිම් හරහා පා වෙන වලාකුළක ඡායාවක් බවට පත් වූ විට මේ තැනිතලා වනපෙත මගේ මිනිසුන්ගේ ජීවන සුවඳ ඉදිරියටත් රඳවා ගනු ඇත. අපගේ මිනිසුන් මේ භූමියට ආදරය කළේ කිරි දරුවකු තම මවගේ හදවතේ රිද්මයට ආදරය කරන්නාක් මෙනි." සියැටල්ගේ හඬට සවන් දෙමින් අපිත් අපේ පරිසරය රැක ගැනීමට කටයුතු කරමු.

**අරුත් පැහැදිලි කිරීම**

| | |
|---|---|
| ගිරි ශිඛර | කඳු මුදුන් |
| ස්මරණය | මතකය |
| ඓතිහාසික | ඉතිහාසයට අයත් |
| සමුදාය | සමූහය/ රාශිය |
| සදාකාලික | හැම කාලයට ම අයත් |

### රස විඳිමු

ඉස්සර කාලේ ඉර හඳ සෙවණේ
ගහ කොළ නැමදූ මිනිසුන්නේ
ඔබ දැන සිටියා වනන්තරේ වග
ඒකයි කළ ගුණ මෙනෙහි කළේ

විනීතා බී. අබේවික්‍රම



## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. සොබාදහමට ආදරය කළ ශ්‍රේෂ්ඨ රතු ඉන්දීය නායකයා කවුද?
2. එක ම පවුලකට අයත් වන දේ ලෙස මෙහි දක්වා ඇත්තේ මොනවා ද?
3. මෙහි සඳහන් ආකාරයට ගංගාවලින් ඉටුවන කාර්ය මොනවා ද?
4. මේ පාඩමේ සඳහන් පරිසරයේ විචිත්‍රත්වය විස්තර කෙරෙන ඔබ සිත්ගත් අවස්ථාව කුමක් ද?
5. රතු ඉන්දීය නායකයා මිහිතලයේ අගය පිළිබඳ දක්වා ඇති අදහස් මොනවා ද?

## ක්‍රියාකාරකම්

1. පහත දැක්වෙන අක්ෂර ඇතුළත් අදාළ වචන පාඩමෙන් තෝරා ලියන්න.

| දන්තජ ස | තාලුජ ශ | මූර්ධජ ෂ |
|---|---|---|
| | | |

2. රතු ඉන්දීය නායක සියැටල්, පරිසරයට දැක්වූ ආදරය පිළිබඳ විස්තර කරමින් වාක්‍ය පහක් ලියන්න.

## පැවරුම

පැළයක් සිටුවන්න. දිනපතා එයට සාත්තු කරන්න. එය වැඩෙන ආකාරය පිළිබඳ සටහන් තබන්න.

| දිනය | නිරීක්ෂණ |
|---|---|
| | |



# 8 ඉතුරු සතේට

මේ කෙටිකතාව මහාචාර්ය සෝමරත්න බාලසූරිය මහතාගේ **පඳුරු ගසා කිරි වැදිලා** කෙටිකතා සංග්‍රහයෙන් උපුටා ගත්තකි. කුඩා ළමයින් දෙදෙනකු අතර ඇති සහෝදර බැඳීම හා ඔවුන්ගේ ළමා ලෝකය මින් නිරූපණය වේ.

වුණ දේට මොනවා කරන්න ද? මං හිතලයැ තනියම කෑවෙ? බැරි වෙලා නෙ, බැරි වුණ එක නේන්නං වරද. මොකක් ද ඕක සීනිබෝලෙ නෙ. ඕක කෑවට, බඩපිරෙන එකක් යැ. බඩ පිරෙන්නෙ නං නෑ. ඒ වුණාට නුදුන් එක නෙ වැරැද්ද. ඇත්තමයි, ඉතුරු වුණ සතේ නුදුන්නනං කොච්චර හොඳ ද?

මා කඩේට ගියේ බඩු ගෙන ඒමටයි. ඉතුරු සතේට මුදලාලි දුන්නේ සීනිබෝලයකි. මා එය කටේ දමා ගත්තේ ඉවක් බවක් නැතියකු සේ ය. එවිට මගේ කටට දැනුණේ කොතරම් රසයක් ද? මගේ කටේ ඒ වෙනුවට දැන් ඇත්තේ අප්පිරියාවකිඃ තිත්ත රසකි. සීනිබෝලය දකින කොට ම මගේ කටට ඉනූ කෙළ දැන් හිඳී ගොස් ය. දතෙහි රැඳී ඇත්තේ තිත්ත රසකි. මම හාල් මල්ලෙන් හාල් ඇට කීපයක් කටේ දමා ගත්තෙමි. එයින් මගේ කටේ තිත්ත රස වෙනස් වෙතියි සිතුවෙමි. එහෙත් එයින් තිත්ත රස තව තවත් වැඩි විය.



නංගී මට නොදී කිසිවක් නොකනවා ඇතැයි මට සිතේ. නංගී මසුරු වුව ද මට සීනිබෝල ගෙනවුත් දුන් වාර කීපයකි. අම්මා පොළෙන් ගෙන එන කඩල මුල නංගී පළමුවෙන් ම ගෙනෙන්නේ ද මා ළඟට ය. මගේ පංගුව ඉවර වූ පසු ඇයගේ අතෙහි ඇති කඩල ඇට කීපයෙන් එකිනෙක ඇය මා අත තබයි. ඒවායේ ඇති නැවුම් සුවඳ මට දැනේ. මා ඒවා එකින් එක පටස් පටස් ගා හැපූ හැටි, ඒවා කොතරම් රස ද?

නංගී නිතර ම වගේ කඩයට ගියා ය. ඈ ඉතුරු වන සතේට සීනිබෝලයක් ගෙනාවා ය. ඈ එය අතේ තබාගෙනවුත් දහඩියෙන් තෙත් වී ඇත. ඈ එය ගෙනැවිත් මගේ කටට ළං කළා ය. මම දතින් කටස් ගා කෑල්ලක් කඩා ගෙන කමි. ඉතුරු කෑල්ල කටේ දමා ගන්නා ඈ සිනා සෙයි. වරෙක ඇගේ කැබැල්ලෙන් කොටසක් මගේ කටට ළං කෙළේ ඇගේ කොටස ලොකු වූ නිසා විය යුතු ය. මගේ කටින් කඩා ගත් සීනිබෝල කෑල්ල ඈ කන්නේ කොතරම් ප්‍රීතියෙන් ද?

නංගී දිනපතා කැටයට දැමීමට තමාට ලැබෙන සතයෙන් සීනිබෝල ගෙනෙන්නේ මටත් දී කෑමට විය යුතු ය. ඈ මසුරු වුව ද සීනිබෝල ගෙනෙන්නේ ඒ නිසා විය යුතු ය.



නංගී උදේ පාන්දරින් ම නැගිටියි. ඈ කළුවරේ ම දුවන්නේ දිවුල් ගස් යටට ය. ඈ හැම තැන ම එබිකම් කර දිවුල් අහුලයි. නංගී ඒවා ගෙනෙන්නේ හපන්කමක් කළාක් මෙනි. ඈ ඒවා ළඟ තබා ලොකු කුඩා බලයි. ඈ පළමුව එකක් දෙන්නේ මට ය. එය කන්නේ ඇත් මාත් හවුලේ ය. 'අයියේ මට කට්ට' යැයි කියමින් ඈ කෑවේ දිවුල් කට්ට සූරා ගෙන ය. මෙසේ අපි දිවුල් ගෙඩි කීපයක් ම කා හමාර කළෙමු. එහෙත් නංගී කෑල්ලකට දෙකකට වඩා කන්න නැත. 'මට ඔය හැටි කන්න බැහැ'යි මම වරෙක කියමි. එවිට නංගී ඒවා සඟවා පසුව මා වෙත සිනහා සෙමින් ගෙන එන හැටි මට සිහි වෙයි.

අයියා ගෙදර එන විට ගෙනෙන්නේ කේක් විතරක් නොවෙයි. නංගී මේවායින් පංගුවක් සඟවා තබයි. ඈ ඒවා පසු දිනෙක මා වෙත ගෙන එන්නේ නෑයකු කතා කරන්නාක් මෙන් කතා කරමිනි. ඒවායින් වැඩි හරියක් කන්නේ මා ය. ඇගේ ප්‍රීතිය තව තවත් වැඩි වෙයි. මා අතෙහි ඇති සීනිබෝලය වරෙක ඈ උදුරා ගත්තා ය. නංගී සිනා සෙන්නේ එවිට ය. මගේ සිතෙහි ඒ මුහුණ ඇඳී ඇත.

නංගී වත්ත පහළ ඇවිදීමට ගියා ය. ඇය එන්නේ කරඹ, කොහුකිරිල්ල ගෙඩි කඩා ගෙන ය. ඈ කරඹ ගෙඩි එකින් එක දෙන හැටි මට සිහි වෙයි. ඉදුණු ගෙඩි සියල්ල දෙන්නේ මට ය. ඒවායේ සීනි සුවඳක් මගේ නැහැයට දැනෙයි. තද කළු කරඹ ගෙඩිවල කොතරම් රසයක් තිබෙන්න ඇද්ද? ඈ මෙසේ මට ගෙනවුත් දුන් දේ කොපමණ ද? මගේ කටෙහි තිත්ත ගතිය තව තවත් වැඩි වෙයි. නංගීගේ සිනහා මුහුණ මට පෙනේ. එය දැන් මලානික වන්නා සේ ය. වරෙක ඈ ඇඬූ සැටි මට මතක ය. 'අයියේ, සීනිබෝල ගෙනාවා ද?' ඇය අසනු ඇත. මා ගත් සීනිබෝලය මගේ බඩෙහි ය. නංගීට සීනිබෝලය දුන්නා නම් ඈ එය සිනා සෙමින් ගනු ඇත. එවිට ඇගේ සිත ප්‍රීතියෙන් උතුරා යයි.



මා ඈ අමතක කර ඇත. මා ලොකු වරදක් කර ඇත්තකු සේ ය. මට සීනිබෝල ගැනීමට ආපසු යෑමට සිතේ. ඒත් මං කෑව එක කෑවෙ නංගීට නොදී නෙ. නංගී මට කොතරම් සීනිබෝල දෙන්න ඇද්ද? එහෙත් මා ඇට නොදී කෑවා නෙ. යමකු මා ලුහුබැඳ එන්නා සේ ය.

'අයියේ, සීනිබෝල ගෙනාවා ද?' ඈ මා ගෙදර යන විට අසනු ඇත. මා එවිට කියන්නේ කුමක් ද? මට සීනිබෝල ගෙන යා හැකි ය. ඒත් මා කෑ සීනි බෝලය? එය කෑවේ නංගීට නොදී නේ. නංගී මගේ කටට සීනිබෝල ළං කරන හැටි සිහි වේ. එහි ඇති සුවඳ, මම එයින් කෑල්ලක් කටින් හපා ගතිමි. එහෙත් මා තනිව කෑවා නෙ. මා නංගීට සැලකූ හැටි, නංගී මට නොදී කිසිවක් කන්නේ නැත. මගේ දෙනෙතට කඳුළු උනා එන්නා සේ ය.

මම කෙළ ගිලීමට උත්සාහ කළෙමි. මගේ උගුර වියළී ගොස් ය. පාරේ දූවිලි ඇවිස්සී ඇත. ඒවා මගේ කන් නාසාවලට පවා ඇතුළු වෙයි.

**අරුත් පැහැදිලි කිරීම**

| | |
|---|---|
| සතය  | රුපියලකින් සීයෙන් එකක වටිනාකම ඇති කාසිය. |

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. ඉතුරු මුදලට ලැබුණේ මොනවා ද?
2. අයියා තිත්ත රස නැති කර ගැනීමට කළේ කුමක් ද?
3. නංගී අයියා සමග බෙදා ගත් දේවල් මොනවා ද?
4. අයියා දුක් වන්නේ ඇයි?
5. මේ පාඩමේ සඳහන් නංගී ගැන ඔබට සිතෙන්නේ මොනවා ද?

## ක්‍රියාකාරකම

**ගැළපෙන ක්‍රියාපදය වරහන් තුළින් තෝරා ලියන්න.**

**(ආවා ය, ගත්තා ය, ආවේ ය, ගත්තේ ය, වැටුණි, කළේ ය)**

1. අයියා ගෙදර එන විට කේක් ගෙන ....................
2. නංගී කරඹ, කොහුකිරිල්ල කඩා ගෙන ....................
3. ඔහු දිවුල් ගෙඩි කිහිපයක් කා හමාර ..................
4. ඈ සීනිබෝලය මා හා බෙදා .................
5. සීනිබෝල බෝතලය බිමට ................

## පැවරුම්

**1. මේ පාඩමේ සඳහන් අයියා හෝ නංගී හෝ ඔබ යැයි සිතා මේ කතාව ඔබ කැමති පරිදි ඉදිරියට ගොඩනගන්න.**

**2. පුස්තකාලයෙන් කතා පොත් සොයා කියවන්න.**



# 9 ලොව සුරකින මහ වෙදැදුරු

'සිරිමත් මගෙ සකි' 'හා හා හරි හාවා', ආදි පද්‍ය නිර්මාණත් **හත්පණ, මගුල් කෑම, හීන්සැරය** ආදි කතාන්දරත් ඔබ මීට පෙර කියවා ඇති බව නිසැකයි. ඒවා ලියූ කුමාරතුංග මුනිදාස මහතාගේ **ප්‍රබන්ධෝපදේශය** පොතෙන් උපුටා ගත් කොටසක් මේ පාඩමට ඇතුළත් ය. ඔහුගේ ලේඛන ශෛලියේ ස්වභාවය මේ පාඩම කියවීමේ දී ඔබට වැටහෙනු ඇත.

පහත දැක්වෙන විස්තරය ලියා ඇත්තේ කවුරුන් පිළිබඳ දැයි විමසා බලන්න.

## පළමුවන මහ වෙදය

පංක්තියේ ළමයි කවුරුත් තමන් තමන් දන්නා වෙදුන්ගේ නම් කීවෝ යැ; ඒ ඒ වෙදුන්ගේ සමර්ථකම් වර්ණනා කළෝ යැ. ගුරුතුමා ද තමා හඳුනන පළමු වන මහ වෙදාගේ තොරතුරු කියන්න පටන් ගති.

මෙ කී වෙද්දු කවුරුත් සමර්ථයෝ යැ. ලෙඩක් වූ කලැ මොහු අවුත් බෙහෙත් නියම කෙරෙති; අපේ මුදල ද ගෙනැ යෙති. මේ සියල්ලනට මැ වඩා සමර්ථ වූ වෙදකු ගැනැ මම කියමි. ඔහු හොඳින් හැඳිනැ ගෙනැ ඔහුගෙන් වැඩ සලසා ගන්න උත්සාහ කළ යුතුයි.

මා කියන මේ වෙදා නම් ලෝකයෙහි ඇති තාක් වෙදුන් අතුරින් ප්‍රධානයා යැ. එහෙත් ඔහුගෙන් වෙදකම් ගැනීම තරම් පහසු වූ කාර්යයෙක් වෙන නැති. වෙන වෙදුන් කැඳවා ගෙනැ ඒමට නම්, යම් කිසිවකු යා යුතුයි; රථයක් ගෙනැ යා යුතුයි; පඬුරු ගෙනැ යා යුතුයි. මේ මහ වෙදා කැඳවා ගෙනැ ඒමට යෑම නුවුවමනා යැ. ඔහුට රථ නුවුවමනා යැ. ඔහුට පඬුරු නුවුවමනා යැ. කැඳැවීමක් නැති වැ, හේ තෙමේ මැ එයි.

මේ මහ වෙදා නියම වේලාවට එයි; නියම කාලයක් නවතී; නියම වේලාවට යයි; කාගේ ගෙදරටත් එයි; කාටත් වැඩ කෙරෙයි. 'මේ දුප්පතා යැ, මේ

පොහොසතා' යැයි වෙනස් කොටැ සැලැකීමෙක් ඔහුගේ නැති. පඬුරු නොගන්නා බැවින්, ගරු බුහුමන් නොතකන බැවින්, ඔහුට කවුරුත් එක සමාන වෙති. මිනිසුන් පමණක් නො වැ, තිරිසන්නු ද, ගස් වැල් ආදිය ද, ඔහුගෙන් එක සේ ප්‍රයෝජන ලබති. අහෝ, කොතරම් ගුණවත්, කොතරම් උතුම් වෙදෙක් ද!

"මේ පුදුම මහ වෙදා දොරිනුත් එයි; කවුළුයෙනුත් එයි; බිත්තියෙහි හෝ පියසෙහි හෝ වූ සිදුරිනුත් එයි; එසේ අවුත් නිඳන්නන් පුබුදුවයි; ගෙයි අඳුර නැති කොටැ, තෙත් වූ තැන් වේළා දමයි, කුණු ඇති තැන් පෙන්වා දෙයි, ලෙඩ බෝ කරන කුඩා සතුන් එළවා දමයි. එහෙයින් නුවණ ඇති අය මේ මහ වෙදතුමාට බොහෝ ගෞරව කෙරෙති; ඔහු එන වේලාව දැනැ, ඇති තාක් දොර කවුළු ආදිය හැරැ දමති; ගෙයි සියලු තන්හි මැ ඔහුට රිසි සේ හැසිරෙන්න ඉඩ දෙති.



මේ වෙදා කිසි කලෙකැත් කිසි බෙහෙදක් නියම නො කෙරෙයි; මේ මේ දෑ කරවයි අවවාදයකුදු නො දෙයි; කළ යුත්තක් ඇත හොත් එය තෙමේ මැ කෙරෙයි. ඔහුගේ සියලු උත්සාහය ලෙඩ වැළැක්වීමට යැ; ලෙඩ ආ කලැ එයට පිළියම් කිරීමට නො වේ. එහෙයින් මේ මහ වෙදාගෙන් සුදුසු වැඩ ගන්නට දන්නා අයගේ ගෙදරට වෙන වෙදුන්ගේ පැමිණීම ඉතා අඩු යැ.

“නුවණ නැති, කම්මැලි අය මේ වෙද උතුමාට සුදුසු තරම් ගෞරව නො කෙරෙති' ඔහුට පහසුයෙන් එන්නට දොර කවුළු ආදිය හැර නො දමති; ඔහුට ගෙයි සියලු තන්හි හැසිරෙන්නට ඉඩ නො දෙති. මේ නිසා එබඳු අයගේ ගෙදර එක් පසෙකැ සොටු සූරන අය වෙති; එක් පසෙකැ කහින අය වෙති; එක් පසෙකැ උණින් කෙඳිරි ගාන අය වෙති; සමහරු කසාය උණු කෙරෙති; සමහරු බෙහෙත් අඹරති; සමහරු කැඳ උයති; සමහරු වෙදුන් කැඳවා ගෙනැ එන්නට යෙති; සමහරු වෙදුනට ගෙවීමට, බෙහෙත් ගැනීමට මුදල් සොයති. අහෝ, කොතරම් නුනුවණ කමෙක් ද!



“ඉතින් මා කියන මහ වෙද උතුමාගේ ද, වෙන වෙදුන්ගේ ද වෙනස හොඳින් පෙනේ. මේ වෙද උතුමා හඳුනන්නහු ද?” ගුරුතුමා මෙ සේ කී කලැ, සියලු ළමයි දකුණත් දිගු කොට සූර්ය රශ්මිය දැක්වූ හ.

**ඔබ කියවූ විස්තරය කවුරුන් පිළිබඳව ද යන්න දැන් ඔබට පැහැදිලි වනු ඇත. ඉර ගැන ලියවුණු ඒ විස්තරය ඉතා අපූරු රචනයක් නො වේ ද? කුමාරතුංග මුනිදාස මහතා සූර්ය රශ්මිය පිළිබඳ ලියා ඇති පහත රචනය ද කියවන්න.**

## සූර්ය රශ්මිය



සූර්ය රශ්මිය ලෝකයට අප්‍රමාණ වැඩ සලසන්නේ යැ. කිසි වියදමක් නැති වැ, වෙහෙසක් නැති වැ එය ලබා ගත හැකි යැ. තමන් සිටිනා තැනට මැ ඒ පැමිණේ නම්, කුමන වියදමෙක් ද? කුමන වෙහෙසෙක් ද?

නියම වේලාවෙකැ මැ එන හෙයින් ද, නියම වේලාවක් පවත්නා හෙයින් ද, නියම වේලාවෙකැ මැ යන හෙයින් ද, සූර්ය රශ්මියෙන් වැඩ සිදු කැරැගැනීම විශේෂයෙන් මැ පහසු යැ. දුප්පත් පොහොසත්, පහත් උසස් සියලු දෙනාට සූර්ය රශ්මිය එක සේ ලැබේ. එයින් මහත් වැඩ සිදු වනුයේ මිනිසුනට මැ නො වේ. තිරිසනුනට ද ගස් වැල් ආදියට ද එයින් එක සේ වැඩ සිදු වේ. කළ යුත්තේ සූර්ය රශ්මිය එන මඟ නොවැසීම පමණෙකි. ගෙයෙකැ නම් බොහෝ දොර කවුළු ඇති විය යුතු යැ. එකලැ දොරින් කවුළුයෙන් ඇතුළට වැටෙන සූර්ය රශ්මිය කරණ කොටැ ගෙනැ, අඳුරු දුරු වෙයි; තෙත තැන් වියැළෙයි; ලෙඩ ඇති කරන කුඩා සත්තු දුරු වෙති; උණුසුම ඇති වේ. මේ හේතු කොටැ ගෙනැ ඒ ගෙය ලෙඩින් තොර වන්නේ යැ.

**මේ ආකාරයට කිසියම් මාතෘකාවක් යටතේ රචනා ලිවීමට ඔබටත් හැකි ය. පොත්, පුවත්පත්, සඟරා ආදිය කියවීම, වැඩිහිටියන්ගෙන් විමසා තොරතුරු දැන ගැනීම එහි දී වැදගත් වේ. රැස් කර ගත් කරුණු මැනවින් ගළපා, එක ම කරුණු නැවත නැවත ලිවීමෙන් වැළකී ඔබේ රචනය ගොඩනැඟිය යුතු ය. නිවැරදි උක්තාඛ්‍යාත සම්බන්ධය, නිවැරදි අක්ෂර වින්‍යාසය, මාතෘකාවට අදාළ බව, නිවැරදි විරාම ලක්ෂණ භාවිතය ගැන ද රචනා ලිවීමේ දී අවධානය යොමු කළ යුතු ය.**

## අරුත් පැහැදිලි කිරීම

| | |
|---|---|
| පංක්තියේ | පන්තියේ |
| සමර්ථ | සමත්/ දක්ෂ |
| රථ | වාහන |
| පඬුරු | තෑගි |
| කවුළුයෙන් | කවුළුවෙන්/ ජනේලයෙන් |
| බෙහෙදක් | බෙහෙතක් |
| පිළියම් | ප්‍රතිකර්ම/ ප්‍රතිකාර |
| නුනුවණකමෙක් | මෝඩකමක් |

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. මේ වෛද්‍යවරයාගෙන් ප්‍රයෝජන ලබන්නෝ කවුරු ද?
2. මේ වෛද්‍යවරයා කැඳවා ගෙන ඒමට අවශ්‍ය නොවන්නේ මොනවා ද?
3. මේ වෛද්‍යවරයාට නිවෙසට ඇතුළු විය හැකි ස්ථාන මොනවා ද?
4. මේ වෛද්‍යවරයා නිසා රෝග තුරන් වන්නේ ඇයි?
5. මේ වෛද්‍යවරයාගේ යහපත් ගුණාංග මොනවා ද?

## ක්‍රියාකාරකම

පාඩම කියවා පහත ඒක වචන ක්‍රියා පදයට ගැළපෙන බහු වචන ක්‍රියා පදය තෝරා ලියන්න.

| ඒක වචන | බහු වචන |
| --- | --- |
| ලබයි | |
| කරයි | |
| දෙයි | |
| දමයි | |
| කෙරෙයි | |
| පෙනෙයි | |

## පැවරුම

ඔබ සූර්යයා යැයි සිතා පන්තිය ඉදිරියේ කතාවක් පවත්වන්න.



# 10 සමගිය

රාජ්‍ය සම්මාන ලාභී ලේඛක සුනිල් ජයවීර මහතාගේ **පුංචි අපේ රට** කාව්‍ය සංග්‍රහයෙන් උපුටා ගත් මේ පැදි පෙළ, සමගියෙහි අගය කියා පායි. පාට පෙට්ටියක ඇති පාට කූරු සියල්ල එකට එකතු වුව හොත් කොතරම් අපූරු නිර්මාණ කළ හැකි දැයි මේ කවි පන්තියේ දැක්වෙයි. පාට පෙට්ටියක් ඇසුරෙන් කවියා අපට පවසන දේ හොඳින් විමසා බලමු.



තාත්තා මට ගෙනත් දුන්න
පුංචි පෙට්ටියක් තියෙනවා
ඒ පෙට්ටිය ඇතුළෙ ඉඳන්
පාට පාට හිනා වෙනවා



කහ රතු නිල් පේළි පේළි
එක ම මවකගෙන් ඉපදුණු
එක ම ගෙයක් ඇතුළට වී
අත් බැඳ ගෙන එකට ඉන්න
පුංචි ළමයි වගේ නේද
පොඩි පෙට්ටිය ඇතුළෙ ඉන්නෙ
අපි ඔක්කොම එකතුවෙලා
එකමුතු වී වැඩ කෙරුවොත්



ලස්සන රූපයක් ඔන්න
එහෙම විට දී බිහි වෙනවා
පුංචි නමුත් ටිකිරි නමුත්
මුළු ලෝකයෙ තියෙන පුදුම
ලස්සන දේවල් මවන්න
අපට හැකියි කියා දෙන්න

හිතූ සැණින් අප ඇවිදින්
හිමාලයේ කඳු මුදුනට
මහ මුහුදේ කිඳුරු ලොවට
සුරංගනා ලෝකයකට
අරගෙන යන්නට පුළුවනි

මුළු ලෝකයෙ හැමදෙනෙක් ම
අප දැකලා සතුටු වෙනවා
හිතේ තියන දුක් කරදර
හැම දෙයක් ම නිවිලා යනවා

එකමුතුකම නිසයි අපට
මෙතරම් ලස්සන දේවල්
මුළු ලෝකෙට දෙන්නට හැකි
ඒක නිසා පුංචි ළමයි
පාට වගේ එකමුතු වී
වැඩ කෙරුවොත් භේද නැතුව
මුළු ලෝකෙ ම හරි ලස්සන
රූප පොතක් වගේ නේද



## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. මේ කවි පන්තියේ කියවෙන පරිදි පොඩි පෙට්ටිය ඇතුළේ සිටින්නේ කවුරුන් ද?
2. ඔවුන් පොඩි පෙට්ටිය ඇතුළේ සිටින ආකාරය කියවෙන පද්‍ය කොටස උපුටා දක්වන්න.
3. එහි සිටින අයට සිතූ සැණින් අප රැගෙන යා හැකි ස්ථාන මොනවා ද?
4. ලස්සන දේවල් ලෝකයට දීමේ හැකියාව ඔවුන්ට ලැබී ඇත්තේ කුමක් නිසා ද?
5. මේ කවි පන්තිය ඇසුරෙන් ඔබට ලද හැකි ආදර්ශ මොනවා ද?

## ක්‍රියාකාරකම

**ගැළපෙන සමානාර්ථ පද පාඩමෙන් තෝරා ලියන්න.**

1. පියා
2. පුංචි
3. ලොවේ
4. එකමුතුකම
5. ග්‍රන්ථය
6. සයුරේ

## පැවරුම්

1. හිස්තැන්වලට සුදුසු ඉතුරු කවිපද නිර්මාණය කරන්න.

   කහ රතු නිල් පේළි පේළි  
   සමගි වෙලා යාළු යාළු  
   ............................................  
   ............................................

2. මේ පාඩම ඇසුරෙන් චිත්‍රයක් නිර්මාණය කරන්න.

### සිතමු



"දේවතාවෙනි, එකිනෙකට එක් නොවී, එකට නොබැඳී, තනිව තිබුණු ගස් සුළඟින් කඩා වැටුණා. එක්ව තිබුණු මේ සල් ගස් එසේ කඩා වැටුණේ නෑ. මෙයින් ඉගෙන ගත යුතු වැදගත් පාඩමක් තියෙනවා. අපිත් එක්ව සමගියෙන් සිටින තුරු කාටවත් අප වට්ටන්න බෑ. ඒ නිසා මීට පසුව වත් එක්ව සමගියෙන් සිටීමට මතක තබා ගන්න."

රුක් දෙවිවරු  
කුසුම් දිසානායක



# 11 කොග්ගල චාරිකාව

කොග්ගල මහා ප්‍රාඥයා යන විරුදාවලිය ලත් සුප්‍රකට ලේඛක මාර්ටින් වික්‍රමසිංහ මහතාගේ උපන් ගම් පියස ගාල්ල දිස්ත්‍රික්කයේ කොග්ගලයි. එතුමා උපන් නිවෙස පිහිටි භූමිය වර්තමානයේ බොහෝ දෙනාගේ ආකර්ෂණය දිනා ගත් ජනකලා කෞතුකාගාරයක් බවට පත් වී ඇත. අපගේ බොහෝ ජනකලා උරුම සජීව ලෙස දැක ගත හැකි ඒ භූමියට අපි කොග්ගල චාරිකාවෙන් මෙසේ පිවිසෙමු.

“මාර්ටින් වික්‍රමසිංහයන්ගේ බොහෝ කතන්දර පොත්වල කොග්ගල ගැන ලියලා තියෙනවා. අන්න ඒ කොග්ගල තමයි දැන් අපි ඉන්නෙ;” ගුරුතුමිය, මාර්ටින් වික්‍රමසිංහ ජනකලා කෞතුකාගාරයට ඇතුළු වීමට පෙළ ගැසෙන ළමයින්ට කීවා ය. විමසිලිමත් දෑස් දල්වමින් ළමයි ජනකලාගාරයේ අපූරු නිමැවුම් නරඹමින් ඉදිරියට ගියහ.

“අර.. අර.. කරත්තයක්” අරුණ ඇඟිල්ල දිගු කළේ ය.



“කරත්තයක් නෙවෙයි ඒ, තිරික්කලයක්. අපේ ආත්තම්මලාගේ ගෙදර තියෙන්නෙ මාතර. අපි එහේ ගියා ම තිරික්කලෙන් ගිහින් තියෙනවා,” ප්‍රබෝධ කීවේ ය.

“උපාලියි ජින්නායි මඩොල්දූවෙ යන්න ඇත්තේ මේ වගේ ඔරුවකින් වෙන්න ඇති” යි ලී කඳන්වලින් සෑදූ ඔරු පෙන්වා අරුණට කීවේ ටිරාන් ය. ධීවර කර්මාන්තයට අදාළ උපකරණ නරඹමින් ළමයි තවත් ඉදිරියට ගියහ.

ගොවිතැන සඳහා භාවිත වන උපකරණ එකින් එක විස්තර කරද්දී ළමයි සාවධානව අසා සිටියහ.

“නගුල මම මීට කලින් දැකලා නැහැ’ රිසානා කීවා ය.

“මමත් දැකලා තිබුණෙ රූපයෙන් විතරයි’ මනුක කීවේ ය.

“මේ බලන්න ඉස්සර හාල් මැනපු උපකරණ. මේ තියෙන්නෙ සේරුව. අර හුණ්ඩුව.” ගුරුතුමිය විස්තර කරද්දී ළමයි ගුරුතුමිය වටා රැස් වූහ.

“අපේ ගණිත පොතෙත් තියෙනවා මනින උපකරණ. ඇයි මතක නැද්ද?” කවීෂා කීවා ය.

“රෑකඩ, වෙස් මුහුණු, ගොවිතැන් උපකරණ වගෙ දේවල් මෙතන ප්‍රදර්ශනය කරන්නේ ඇයි?” මෙතෙක් නිහඬව සිටි සවනි ඇසී ය.

“හොඳ ප්‍රශ්නයක් දුව ඇහුවෙ” මාර්ටින් වික්‍රමසිංහ භාරකාර මණ්ඩලයේ නිලධාරියා විස්තර කිරීම ඇරඹුවේ ය. “මාර්ටින් වික්‍රමසිංහ මහතා ගමට ඉතා සමීපව සිටි කෙනෙක්. එතුමා ගමට ආදරේ කළා. පරිසරයට ආදරේ කළා. ඒ විතරක් නෙමෙයි, ගමේ කර්මාන්තවලට, ජන සංගීතයට, ජන කලාවට එතුමා ප්‍රිය කළා. ඉතිං එතුමා නමින් තිබෙන කෞතුකාගාරයට ජනකලා අංග එකතු කරලා තියෙනවා.”

අනතුරුව ළමයි පොල් තෙල් හිඳීමට භාවිත කරන සෙක්කුව අසලට රැස් වූහ. එය භාවිත කරන ආකාරය ගුරුතුමිය ළමයින්ට පැහැදිලි කළා ය.



ඉන් අනතුරුව ළමයින් පිවිසියේ මාර්ටින් වික්‍රමසිංහ ශ්‍රවණාගාරයට යි. වික්‍රමසිංහයන් පිළිබඳ තොරතුරු ඇතුළත් **විකුම්සිහ වත** කෙටි වාර්තා චිත්‍රපටය නැරඹීමට ඔවුන්ට එහි දී අවස්ථාව උදා විය. පොත් දහස් ගණනකින් සමන්විත වූ වික්‍රමසිංහයන්ගේ පොත් ගුල, මඩොල්දූව හා ඒ අවට පරිසරය, දකුණු ලක මුහුදු තීරයේ සුන්දරත්වය සේ ම එතුමන් කළ කී දෑ බොහොමයක් සජීවීව අත්විඳින්නට එම චිත්‍රපටය උපකාරී විය. පරිසරය කෙරේ දැක් වූ සංවේදීතාව, එතුමාගේ නිර්මාණකරණයේ සාර්ථකත්වය සඳහා ඉවහල් වූ බව ඒ මගින් අවබෝධ විය.

"අපි ඊළඟට යන්නේ කොහේ ද?" ඒ ප්‍රශ්නය රාධාගෙනි. "කලබල වෙන්න එපා රාධා, මඩොල්දූවට යන්නේ අන්තිමට," සවනි කීවා ය.

සියල්ලෝ ම සිනාසුණහ. ඔවුන් ඊළඟට පියමැන්නේ හෙළයේ මහ ගත්කරු මාර්ටින් වික්‍රමසිංහ සූරීන් උපන් නිවහනට ය.



"අර, තනි කකුලෙ මේසයක්!" කවීෂා කීවා ය. "ඒකට කියන්නෙ කනප්පුව කියලා" ගුරුතුමී කීවා ය. "අර ඇඳට කියන නම මොකක් ද?" දෙව්මිත් ඇසුවේ ය. "ඒ වියන් ඇඳ, අපේ ආත්තම්මලාගේ ගෙදරත් තියෙනවා" ප්‍රබෝධ එක්වර ම කී ය.



“අර දිග පුටුව කව්ච්චිය. ඒක මං දන්නවා.” කවීෂා කීවා ය. එතුමා පරිහරණය කළ ඇස් කන්නාඩි යුවළ, පෑන ආදිය තබා ඇති ලියන මේසය අසල ළමයි මඳක් නතර වූහ. එතුමාගේ අත් අකුරු ද ඔවුන්ට දැක ගන්නට ලැබිණි. ළමයි එතුමාගේ ලේඛන දිවියේ විශේෂ තොරතුරු සටහන් කර ගත්හ. වික්‍රමසිංහයන්ගේ මහ ගෙදරින් පිටතට පැමිණි ඔවුහු නිවෙස ඉදිරියේ තණබිමේ වාඩි වූහ.

“කවීෂා, හැමෝට ම ඇහෙන්න මේ ඡේදය කියවන්න” ගුරුතුමිය අපේ ගම පොතේ පිටුවක් පෙරළා කවීෂාට දුන්නා ය. කවීෂා ශබ්ද නඟා කියවීම ආරම්භ කළා යː

**එක් අතකින් මුහුදටත්, අනෙක් අතින් විශාල නදියකටත්, මැදි වූ අපේ ගම් පෙදෙස, කුඩා බිම් තීරයකි. පොල් ගසින් ද දෙල් ගසින් ද සෙවණ වූ, අත්තන, කීඩාරම්, බලු නගුට, කහඹිලියා, බුරුල්ල, කිරිල්ල, ගඳපාන යන ආදියෙන් හෙවුණු කැලෑ රොදවල් බහුල බිම් පෙදෙස් හැර, අප සිත් ගත් සුදු වැලි තලා ඇති වන රොදක් ද එහි වී ය. කජු, මාදන්, අඹ යන ආදි ගස්වලට වැඩි විශාල වෘක්ෂයන් නොවූව ද, නොයෙක් වර්ගයේ පක්ෂීන් ද, හාවුන් ද, ලෙහෙනුන් ද, සර්පයන් ද, මුගටියන් ද, උගුඩුවන් ද, වල් මීයන් ද වාසය කරන ඝනව වැඩුණු ඇපල පඳුරු, එරමිණියා සහ ගඳපාන අකුල්, බෝවිටියා ගොමු, එහි බහුල වී ය. පේර ගස්වල බෙහෙවින් පේර හට ගත් නමුදු ඉදුණු පේර ගෙඩියක් අපට කඩා ගන්නට ලැබුණේ ඉතා ම කලාතුරකිනි. පේරයක් යන්තම් පැසී කහ පාට වී ගෙන එනු දකින ළමයින්, එය කඩා ගන්නා බැවිනි. එහෙත් කොළයේ ම පාටින් වෙන් නොකළ හැකි අමු පේර ගෙඩි, ළමයින්ගේ ඇස්වලට හසු නොවී සැඟවී කොළ අස්සේ සැඟවීම නිසා, කහවට හුරු රතුපාට වන තෙක් ඉදුණු පේර ගෙඩියක් සොයා ගත් විට, අප ප්‍රීති වූයේ, මැණික් ගරන මිනිහකු ලොකු රතු කැටයක් ලත් විට ප්‍රීති වන්නාක් මෙනි.**



මාර්ටින් වික්‍රමසිංහයන්ගේ රසවත් සහ හරවත් නිර්මාණ පිළිබඳ ගුරුතුමිය පැහැදිලි කළා ය. දිවා ආහාරයෙන් පසු මඩොල්දූවට යන බව ඇසූ ළමා පිරිස සතුටින් ඉපිල ගිය හ.

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. මාර්ටින් වික්‍රමසිංහ ජනකලා කෞතුකාගාරය පිහිටියේ කොහේ ද?
2. චාරිකාවේ දී ළමයින් දුටු දේවල් මොනවා ද?
3. මාර්ටින් වික්‍රමසිංහ සූරීන් හඳුන්වන වෙනත් නමක් දක්වන්න.
4. නිවැරදිව ගළපන්න.

තෙල් හිඳින උපකරණයකි
සීසෑමට භාවිත කරයි
ධාන්‍ය මනින උපකරණයකි
ගමනාගමනය සඳහා භාවිත කර ඇත

නගුල
තිරික්කලය
සෙක්කුව
සේරුව

## ක්‍රියාකාරකම

**පාඩම ඇසුරෙන් පහත දැක්වෙන වගුව සම්පූර්ණ කරන්න.**

| පුද්ගල නාම පද | ද්‍රව්‍ය නාම පද | ස්ථාන නාම පද | සත්ත්ව නාම පද |
|---|---|---|---|
| | | | |

## පැවරුම

**මාර්ටින් වික්‍රමසිංහ මහතාගේ 'මඩොල්දූව', 'අපේ ගම' යන කෘති කියවා එහි චරිත හා සිත් ගත් අවස්ථා නම් කරන්න.**




# සවන් නමා රසකර කවි අසන්නට

අතීතයේ ජීවත් වූ මිනිස්සු සිය පාළුව, කාන්සිය නැති කර ගැනීමට, මහන්සිය දුරු කර ගැනීමට, විනෝදයට කවි ගායනා කළහ. කටින් කට පැවතී විත් අද වන විට පොත්පත්වලට ද ඇතුළත් වී ඇති මේවා ජන කවි ලෙස හැඳින්වෙයි. කුඹුරේ, පැලේ, පතලේ ආදි වැඩ කරන ස්ථානවල දී ගැයුණු කවි, නෙළුම් කවි, ගොයම් කවි, පතල් කවි, පැල් කවි, පාරු කවි, ගැල් කවි ආදි වශයෙන් වර්ග කළ හැකි ය. මේ පාඩමට ඇතුළත් වන්නේ ගොයම් කවි, නෙළුම් කවි, පතල් කවි හා පැල් කවි කිහිපයකි. ඒවා ගයමින් රස විඳිමු.

ගිමන් හැර ගොසින් නැමිලා නෙළන කොට
මුවෙන් සිනා සී වටපිට බලන කොට
සවන් නමා රසකර කවි අසන්නට
පටන් ගන්න කවි සීපද කියන්නට

කනට මිහිරි රසවත් කවි කියමින්
වෙහෙස මහන්සිය දුරු කර ගනිමින්
පස්සෙන් පස්සට පියවර නඟමින්
සුන්දර තාලෙට නෙළමුව විගසින්



අලංකාර කෙත සැදුවේ රජවර
සයංජාත රත් හැල් ගෙන ගොඩ කර
සුදම් දිව්‍ය පුරයක් වැනි හැම වර
ගොයම් සැදුණ හැටි අසනු ය විස්තර

ඇසී නාද හඬ බඹරුගෙ ලීලා
පැසී ගොයම් පත් කිරට නැමීලා
ගැසී සුළං වාතෙට ඉති නැමීලා
පැසී ගොයම් කෙත සුරපුර ලීලා



දුම්බර කන්ද පාමුල මිනිරන් පතලේ
බැසලා බඹ තිහක් කළු ගල සිදුරු කළේ
බස්නාහිර දෝනාවක් ද සවි කළේ
විස්තර කියමි දුම්බර මිනිරන් පතලේ

ඉන්නෙත් දුම්බරයි මහ කළු ගලක් යට
කන්නෙත් කරවලයි රට හාලේ බතට
බොන්නෙත් බොර දියයි පූරුවෙ කළ පවට
යන්නේ කවදා ද මව්පියො දකින්නට



පෙර කලේ තැනූ පැල දැන් දිරාලා
එම කලේ බැඳපු වැට ගොනු කඩාලා
පැල්පතේ ගොයම් රෑ රැක බලාලා
නිදිමතේ කියමි පැල් කවි ගොතාලා

යහපත් මිතුර ඉන්නා ඔය ඉහළ පැලේ
කොහොමත් බැරිය නවතන්නට ඌරු රැළේ
කියතොත් තදට උන් බිය වී දුවති කැලේ
කියතොත් තරගෙට ම සිවුපද කියමු පැලේ



## අරුත් පැහැදිලි කිරීම

| | |
|---|---|
| සයංජාත රත් හැල් | ඉබේ හට ගත් (ස්වයංජාත) රතු පැහැති ඇල් වී වර්ගයක් |
| දෝනාව | පතල්වල උමඟ හාරන ඉල්ලම් මඟ/පොළොව යට හාරන උමඟ |
| බඹ | බඹය යනු දිග මැනීමේ පැරණි මිනුමකි. අඩි හයේ දිග ප්‍රමාණය |
| සුදම් දිවිය පුරයක් | ශක්‍ර දෙවියන් වාසය කරන දිව්‍ය ලෝකය |

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. ගොයම් නෙළීමේ දී ඇති වන වෙහෙස දුරුකර ගැනීමට යොදා ගත් උපක්‍රමය කුමක් ද?
2. පැසුණු ගොයම, හමන සුළඟට නැමී නැමී කෙත සරසන බව කියවෙන කවිය උපුටා දක්වන්න.
3. ගොයම් කෙත උපමා කර ඇත්තේ කුමකට ද?
4. පැල් කවි ශබ්ද නගා ගැයීමෙන් අපේක්ෂා කර ඇත්තේ කුමක් ද?
5. පතල් ජීවිතයේ කටුක බව ජන කවියා විස්තර කර ඇත්තේ කෙසේ ද?

## ක්‍රියාකාරකම

**පහත සඳහන් වචනවලට සමානාර්ථ පද පාඩමෙන් සොයා ලියන්න.**

1. මහන්සිය
2. කටින්
3. ශබ්දය
4. කුඹුර
5. වතුර

## පැවරුම

1. **ඔබ දන්නා වෙනත් රැකියාවක් පිළිබඳ කවියක් නිර්මාණය කරන්න.**
2. **පාඩමේ ඇතුළත් කවි තාලයට ගායනා කරන්න.**



# 13 කැලෑවේ අන්තර්ජාලය

මේ පාඩමට ඇතුළත් වන්නේ රාමේන්ද්‍ර කුමාර් නම් ඉන්දීය ලේඛකයා රචනා කළ කතාවකි. එය සිංහල බසට පරිවර්තනය කර ඇත්තේ බොබී ජී. බොතේජු මහතා ය. එය උපුටා ගෙන ඇත්තේ **කැලෑවේ අන්තර්ජාලය සහ රාමේන්ද්‍ර කුමාර්ගේ තවත් කතා** නම් පොතෙනි. ඉංජිනේරුවරයකු වන රාමේන්ද්‍ර කුමාර් නිරන්තරයෙන් නිර්මාණකරණයේ යෙදෙන ලේඛකයෙකි. ඔහුගේ නිර්මාණ තෙලිගු, බෙංගාල, මරාති, මලයාලම්, හින්දී ආදි ඉන්දීය භාෂාවලටත් ඉංග්‍රීසි භාෂාවටත් පරිවර්තනය වී තිබේ. නව තාක්ෂණය නිසා පැරණි වටිනාකම් අමතක කිරීම, සතුන්ගේ චරිත ඇසුරෙන් කියා පෑමට කතුවරයා දරා ඇති උත්සාහය විමසා බලමු. මේ පාඩමේ සිතුවම් නිර්මාණය කර ඇත්තේ චන්දන සමරකෝන් මහතා ය.

“ඇයි නුඹ කනගාටුවෙන් වගෙ ඉන්නෙ?” බුද්ධිමත් මහලු බකමූණකු වූ උල්ලු, සුදු පරෙවියකු වූ කබ්බුගෙන් විමසුවේ ය.

“මගෙ රැකියාව නැති වෙන්න යනවා වගේ. ඒ ගැන කනගාටුවෙනුයි ඉන්නේ’ කබ්බු පැවසුවේ ය.



විශාල සහ සමෘද්ධිමත් වනරාජධානියක් වූ ඔලොන්ගෝහි තැපැල් දෙපාර්තමේන්තුවේ ප්‍රධානියා වූයේ කබ්බු සුදු පරෙවියායි. කබ්බු සහ විසිඑක් දෙනකුගෙන් සමන්විත ඔහුගේ පරෙවි කණ්ඩායම ලිපි, පාර්සල්, මුදල් ඇණවුම් සහ තැපැල් ඇණවුම් ආදිය රැගෙන ඔලොන්ගෝ කැලෑවේ සිට අනිත් කැලෑවලට ගෙන ගොස් බෙදා දීමේ තැපැල් සේවාවේ නිරත වූහ. ඔවුන්ගේ කණ්ඩායම ඉතා ම කාර්යක්ෂම, ඉතා ම වේගවත් අපූරු ම කණ්ඩායමක් බවට මුළු වන රාජධානියේ ම පිළිගැනීමක් තිබිණ. ඒ දෙපාර්තමේන්තුවේ කාර්යක්ෂම සහ ගුණාත්මක සේවාව වෙනුවෙන් සම්මාන රාශියක් ද පිරිනැමිණි.

"කවුද කිවුවේ නුඹගෙ රැකියාව නැතිවෙන්න යනවා කියලා?"

"කවුරුත් මට කිවුවෙ නැහැ. ඒත් ඒක ඉතා ම පැහැදිලියි. නුඹ අහලා නැද්ද අන්තර්ජාලය ගැන?" කබ්බු විමසුවේ ය.

"කැලෑවෙ ඉන්න සත්තු අල්ලා ගන්න මිනිස්සු හදපු තවත් ජාලයක් ද ඒ?" උල්ලු අනුමාන කරමින් ප්‍රශ්න කළේ ය.

"ඇත්තට ම නුඹ දැනුම තියෙන සතෙක් කියලා කියනවා. ඒත් නුඹගෙ දැනුම දැන් පරණයි. කෙටියෙන් කියනවා නම් අන්තර්ජාලය කියන්නේ පරිගණක මගින් එකිනෙකා අතර කතා කර ගන්න පුළුවන් ක්‍රමයක්. ලෝකයේ එක් කොනක ඉන්න කෙනකුට තවත් ඕනෑ ම තැනක ඉන්න කෙනකු සමග අන්තර්ජාලය ඔස්සේ සම්බන්ධ වෙන්න පුළුවන්. අන්තර්ජාලයෙන් අපට බොහොම තොරතුරු ලබා ගන්නත් පුළුවන්. ඒ පරිගණක දැන් ඔලොන්ගෝ කැලෑවෙත් විශාල වශයෙන් පැතිරිලා. අපේ රජතුමා සයිබර්සියර් ළඟත් අන්තර්ජාල සම්බන්ධකම් ඇති අලුත් ම පරිගණකයක් තියෙනවා. ඔහු මුළු දවස ම ගත කරන්නෙ අන්තර්ජාලයෙ සැරිසරමිනුයි. ඔහු අන්තර්ජාලයෙන් බොහෝ මිතුරන් හඳුනා ගෙන ඔවුන් සමග පැය ගණන් සාකච්ඡා කරනවා."

"රාජධානිය පුරා ම විද්‍යුත් තැපැල් සේවය (ඊ-මේල්) ක්‍රියාත්මක වෙනවා. ඒ විතරක් නෙවෙයි, ඔහු අනිත් සතුනුත් විද්‍යුත් තැපෑල පාවිච්චි කරන්න උනන්දු කරවනවා. විද්‍යුත් තැපෑලෙන් පණිවිඩ යවන්නත් පුළුවන්. දැන් මට කියන්න සියලු දෙනා ම විද්‍යුත් තැපෑල පාවිච්චි කළොත්, මටයි මගෙ සේවක ළමයින්ටයි මොකද වෙන්නෙ?"

“පොඩ්ඩක් ඉන්න... පොඩ්ඩක් ඉන්න. ඊ මේල් e-mail කියන්නෙ මොකක් ද? ඒකත් පුරුෂ (Male) සහ ස්ත්‍රී (Female) වගෙ තවත් ලිංගභේදයක් ද?”

“නැහැ නැහැ, ඊ මේල් කියන්නේ විද්‍යුත් තැපැල. එක් පරිගණකයකින් තවත් පරිගණකයකට පණිවිඩ යවන්නෙ ඊ මේල් මගින්. ඒකට වියදමක් යන්නෙ නැහැ.”

උල්ලු ගැඹුරු කල්පනාවක නිමග්න විය. ඔහු ඔලොන්ගෝවල ජ්‍යෙෂ්ඨ පුරවැසියකු වූ අතර සයිබර්සියර් රජතුමා ද ඔහුට ගෞරවයෙන් සැලකුවේ ය. සයිබර්සියර් රජතුමා හමු වී සාකච්ඡා කරන්න ඔහු තීරණය කළේ ය.

උල්ලුට රජතුමා හමු වූයේ පරිගණකයක් ඉදිරිපිට වාඩි වී සිටිය දී ය. ඔහු තමා කබ්බු සමග කළ සාකච්ඡාව පිළිබඳ විස්තර කළේ ය.



“හොඳයි, කබ්බුගේ සැකය සාධාරණයි.”

“ඒත් රජතුමනි, එතකොට කබ්බුටයි ඔහුගේ කණ්ඩායමටයි මොක ද වෙන්නෙ?”

“ඒ ගොල්ලන්ට අලුත් ක්‍රමයක් හොයා ගන්න වෙනවා. හෙට දවසේ මාධ්‍යය අන්තර්ජාලයයි. ඒ මගින් විද්‍යුත් තැපෑල භාවිත කිරීම ඉතා ම ප්‍රායෝගික ක්‍රමය යි. මම කැමතියි මුළු කැලෑ රාජධානිය ම නව ක්‍රමයට හැඩගැහෙනවාට. ඔවුන් සංවර්ධනයේ පසුගාමීන් විය යුතු නැහැ. පරෙවියන් විසි දෙනකුගේ කණ්ඩායමක් වෙනුවෙන් මට නව තාක්ෂණයෙන් ඔලොන්ගෝ කැලෑවට ලැබෙන වාසිය ප්‍රතික්ෂේප කරන්න බැහැ.”

“ඒත් රජතුමනි, නූතන තාක්ෂණයත් සමග පැරණි ක්‍රමය එකට පවත්වා ගෙන යන්න බැරි ද? ගුවන් යානාව පටන් ගන්න කොට මිනිස්සු කිවුවා දුම්රිය ගමන් නතර වෙයි කියලා. ඒත් ගුවන්යානා නිපදවලා ශත වර්ෂයක් ගත වුණත් තාම කෝච්චි දුවනවා. රූපවාහිනිය එන කොට බොහෝ දෙනෙක් කිවුවා සිනමාව ඉවරයි කියලා. ඒත් තවමත් ඒ දෙක ම තියෙනවා.”

“ඔබ මොනවා කිවුවත් විද්‍යුත් තැපෑල ඉදිරියේ ගොළුබෙලි තැපෑල කොහෙත් ම වැඩකට නැහැ. ඒක නිසා කබ්බුයි එයාගෙ කණ්ඩායමයි වෙනත් රස්සාවල් හොයා ගන්නවා නම් හොඳයි”, රජු උල්ලුට සමු දෙමින් නැවත තම පරිගණකය දෙසට හැරිණි.

වසරකට පමණ පසු උල්ලු සමග හිඳගෙන කබ්බු අතීතයේ ප්‍රීතියෙන් ගත කළ කාලය ගැන කතා බස් කරමින් සිටියේ ය.

“උල්ලු, මම මා ගැන කල්පනා කෙරුවෙ ලිපි අරගෙන යන තැපැල්කරුවෙක් පමණක් ය කියලා හිතලා නො වෙයි. ඊට වඩා වැඩි යමක් මම ඉටු කළා. මම ගිය හැම පවුලක් සමග ම සමීපව හිටියා. මට හොඳට මතකයි ‘ගොරු’ කියන ගෝරිල්ලාට ලිපියක් ගෙන ගිය දවස. ඔහුට අකුරු කියවන්න බැහැ. ඒ නිසා මමයි ලිපිය කියෙවුවේ. ඒ ලිපිය ලැබිලා තිබුණේ ඔහුගේ බෑනාගෙන්. එහි තිබුණා ඔහු සීයා කෙනෙක් වීමේ පුවත. ගොරු උඩ පැනලා සතුටින් නටන්න පටන් ගත්තා. ඔහුගේ සතුටේ දෝංකාරය තවමත් මගේ කන්වලට ඇහෙනවා වගේ.



ඒ දවස්වල බොහෝ දෙනෙක් මම එන තුරු බලා ගෙන හිටියා. මම හොඳ පණිවිඩයක් අරගෙන ගිය හැම අවස්ථාවක දී ම මට විශේෂයෙන් යමක් කෑමට ලැබුණා. මම නරක ආරංචියක් ගෙනාවත් සත්තු හොඳට ම වැලපිලා මට කරුණු කියලා හිත හදා ගත්තා. මම ඔවුන් සනසවලා අවවාද කළා. උල්ලු, ඔබ විශ්වාස කරනව ද මම මඟුල් කපුකමුත් කළා.”

“ඇත්තට ම?”

“ඇත්තට ම තමයි. මම තමයි අලියාගෙ දුව බීගීගෙ මඟුල් කපුකම කළේ. ‘ලාම්බා’ කියන ජිරාෆ් එයාගෙ පුතා දාන්තාල්ට සුදුසු මනාලියක් හොයමිනුයි හිටියේ. මම බොහොම හොඳට හොයලා බලලා දාන්තාල්ට සුදුසු මනාලියක් හොයා ගත්තා පිතාරා කැලෑවෙන්” කබ්බු උල්ලු දෙස බැලුවේ ය. “දැන් ඒ සියල්ල ඉවරයි. මම දැන් වැදගැම්මකට නැති කෙනෙක්. දැන් කාටවත් මාව අවශ්‍ය නැහැ.”

ඒ මොහොතේ බොනී අශ්වයා ඉතා වේගයෙන් දුවනු ඔවුන්ට දක්නට ලැබිණි.

“මොක ද වුණේ බොනී? කොහේ ද දුවන්නෙ?” උල්ලු විමසුවේ ය.

“මට ආරංචි වුණා රජතුමාගේ ගුහාව ළඟ අනතුරක් කියලා. මම එහාටයි යන්නේ.”

“අනතුරක්? එහෙම නම් අපිත් යමු” කබ්බු පැවසුවේ ය. කබ්බු උල්ලු ද සමගින් රජතුමාගේ ගුහාව වෙත ළඟා වූයේ ය.

මුහුණේ කරදරකාරි පෙනුමක් ඇතිව සිටි රජතුමා ඔවුන්ට දක්නට ලැබිණි.

“මගෙ පුතා චෝටු කන්දකින් පහළට වැටිලා, ඔළුව බරපතළ විදියට තුවාල වෙලා. ඔහු වහා ම ශල්‍යකර්මයකට භාජනය කරන්න සිද්ධ වෙලා. වන රාජධානියෙ ඉන්න හොඳ ම ශල්‍ය වෛද්‍යවරයා වන දොස්තර තීක්ෂණ මෙහාට තරමක ඈතින් තියෙන පිතාරා කැලෑවෙ ඉන්නෙ.”

“ඇයි ඉතින් ඔහුට විද්‍යුත් තැපෑලෙන් පණිවිඩයක් යවන්නෙ නැත්තෙ?” උල්ලු යෝජනා කළේ ය.

“බැහැ. ඊයෙ රාත්‍රියෙ විදුලි කෙටිලි, ගෙරවිලි, අකුණු ගැහිලි නිසා අපේ කැලෑවෙ මුළු පරිගණක ජාලය ම විනාශ වෙලා. මම පරිගණක ඉංජිනේරුවකුට එන්න කියලා පණිවිඩයක් යැවුවා. ඒත් ඔහු කියන්නෙ ප්‍රතිසංස්කරණ කටයුතුවලට දවස් තුනක් විතර යාවි කියලා. මට දවස් තුනක් වෙනකල් බලා ඉන්න බැහැ. චෝටුට වහා ම ප්‍රතිකාර කරන්න ඕනෑ”

“ඒක ප්‍රශ්නයක් නෙවෙයි රජතුමනි, මම වහා ම ගිහින් වෛද්‍ය තීක්ෂණට පණිවිඩය දෙන්නම්” කබ්බු පැවසුවේ ය.

“ඇත්තට ම, එහෙම නම් දැන්ම ම යන්න.” රජතුමා එසේ පවසන විට ඔහුගේ ඇස් දීප්තියෙන් බබළන්නට විය.

“මගෙ හොඳ කාලෙදී මට පිතාරාවට යන්න පැය අටක් ගතවුණා. පැය අටකින් පිතාරාවලට ගිහින්, පැය හතරක් විවේක අරගෙන එහෙ ලියුම් සේරමත් අරගෙන, ආපහු එනවා. ඒ සියල්ලට ම යන්නේ පැය විස්සයි. ඒත් රජතුමනි, මේක හදිසි අවස්ථාවක්. අපේ චෝටුගේ ජීවිතය අනතුරේ. මම දොස්තර තීක්ෂණ ඒ කාලයෙන් බාගයකදී අරගෙන එන්නම්.” එසේ පැවසූ කබ්බු, රජතුමාගේ අනුමැතිය ලැබීමටත් පෙර ම තම මෙහෙවර ඉටු කිරීමට පිටත්ව ගියේ ය.

පැය අටකට පසු ඔවුන්ට පියාපත් සලන හඬක් ඇසිණි.

රජතුමා උඩ බැලූ විට දුටුවේ කබ්බු වෙහෙසට පත්ව, දහදිය දමමින්, දූවිලි වැකුණු සිරුරින් යුතුව පියාඹා එමින් සිටින අයුරු ය.



“මොක ද වුණේ? මොක ද වුණේ? කෝ දොස්තර තීක්ෂණ?” රජතුමා විමසුවේ ය.

කබ්බු තමා පැමිණි දිශාව පෙන්වමින් බිම වාඩි ගත්තේ ය. රජතුමා උඩ බැලුවේ ය. දොස්තර තීක්ෂණ ඔහුගේ වෛද්‍ය බෑගයත් හොටයෙන් ඔසවා ගෙන පැමිණෙමින් සිටියේ ය.

පැයකට පමණ පසු දොස්තර තීක්ෂණ පිහාටු සලමින් චෝටුගේ කුටියෙන් පිටතට පැමිණියේ ය. රජතුමා සහ ඔහුගේ බිරිය ෂෙරිනී විගසින් ඉදිරියට ගියහ. ඔවුන්ගේ මුහුණු සැකයෙන් පිරී තිබිණි.

“බය වෙන්න දෙයක් නැහැ. ළමයා දූන් අනතුරෙන් මිදිලා. ඔබ ස්තුති කරන්න ඕනෑ ඔබගේ තැපැල්කරුවාටයි. මම හිතනවා ඔහු විශිෂ්ට රාජකාරියක් කරලා තියෙන්නෙ. මම පිතාරා කැලෑව මැද්දෙ රෝගියකුට ප්‍රතිකාර කරමින් ඉන්දැද්දි තමයි කබ්බු මා ඉදිරිපිටට බැස්සේ. ඔහු මට මිනිත්තුවක් වත් අපතේ යවන්න ඉඩ තිබ්බේ නැහැ. මම ඔහුට කිවුවා ඔහු දීර්ඝ වෙහෙසකර ගමනක් ඇවිත් තියෙන නිසා පැය කීපයක් විවේක ගන්න. ඊට පස්සේ අපි යමු කියලා. එහෙත් ඔහු සවන් දුන්නේ නැහැ. “නැහැ දොස්තර මහත්තයා, තරුණ ජීවිතයක් අනතුරේ. මිනිත්තුවක් වත් ප්‍රමාද වුණොත් විශාල පාඩුවක් සිද්ධ වෙන්න පුළුවන්. රජතුමා ඔහුගේ පුත්‍රයාගේ ජීවිතේ බේරලා දුන්නොත් ඔබට කෘතඥ වේවි.’ කියලා කබ්බු කිවුවා.

පසුව සයිබර්සියර් රජතුමා කබ්බුට මෙසේ කීවේ ය; “මගේ ආදරණීය මිත්‍රයා... ඔබ මට කළ උපකාරයට මම සහ මගේ පවුල කොහොම ස්තුති කරන්න ද කියලා මට වැටහෙන්නෙ නැහැ. මන්ද; මගේ තීරණය නිසා ඔබට ඔබගේ රැකියාව අහිමි වුණත් ඔබ මට ද්වේෂ නොකර, මගෙන් පළි ගන්නේ නැතිව මගේ පුතාගේ ජීවිතය බේරා දීමෙන් කළේ විශාල සේවයක්. ඔබ නැවත වරක් ඔප්පු කර පෙන්නුවා තාක්ෂණය කොතරම් දියුණු වුණත්, තාක්ෂණය පරාජය කළ නොහැකි බව පෙනුණත්, ඔබ වැනි සතුන් සිටී නම් දැඩි හැඟීමත්, ස්ථිර අධිෂ්ඨානයත් අන්තිමේ ජයග්‍රහණය කරන බව.”

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. තැපැල් සේවාවේ නිරත පරෙවි කණ්ඩායමට සම්මාන ලැබුණේ කුමක් වෙනුවෙන් ද?
2. කබ්බුට තම රැකියාව නැති වේ යැයි සැක පහළ වීමට හේතුව කුමක් ද?
3. කබ්බු නමැති තැපැල්කරු ලිපි රැගෙන යාමට අමතරව කැලේ සතුන් වෙනුවෙන් ඉටු කළ සේවා මොනවා ද?
4. විද්‍යුත් තැපෑලෙන් පණිවිඩයක් යැවීමට නොහැකි වූ අවස්ථාවක් මෙහි දැක්වේ. එය කුමක් ද?
5. සයිබර්සියර් රජතුමා කබ්බුට ස්තුති කළේ ඇයි?

## ක්‍රියාකාරකම

**තොරතුරු හුවමාරු කර ගැනීමේ පැරණි හා නූතන සන්නිවේදන ක්‍රම වගුගත කරන්න.**

| පැරණි සන්නිවේදන ක්‍රම | නූතන සන්නිවේදන ක්‍රම |
|---|---|
| | |

## පැවරුම

**එදිනෙදා ජීවිතයට පැරණි සන්නිවේදන ක්‍රම අත්‍යවශ්‍ය නො වේ/අත්‍යවශ්‍ය වේ. පන්තිය කණ්ඩායම් දෙකකට බෙදී මේ මාතෘකාව යටතේ විවාදයක් පවත්වන්න.**




# අසිරිමත් ලෝකය

අතීතයේ පටන් මිනිසාට තමා ජීවත් වන ලෝකය හා විශ්වය අරබයා විවිධ ගැටලු ඇති විය. ඒවා පිළිබඳ වඩාත් හොඳින් විමසා බැලීමේ ප්‍රතිඵලයක් ලෙස ලෝකය සම්බන්ධ විවිධ තොරතුරු අනාවරණය කර ගත හැකි විය. විද්‍යාව විෂයය බිහි වන්නේ ද ඒ අනුව ය. අද වන විට විද්‍යාත්මක සොයා ගැනීම් ඔස්සේ අපි ලෝකය පිළිබඳ බොහෝ තතු දැන සිටිමු. ඒ දැනුම ගොඩනගනු ලැබුවේ අප අවට ලෝකය අරබයා පැවති වැරදි අදහස්වලින් බියපත් නොවී කරුණු සොයා බැලීමට ඉදිරිපත් වූ මිනිසුන් විසිනි. රුසියානු ජාතික ඇනටෝලි තොමිලින්ගේ **How people discovered the shape of the Earth** නම් කෘතිය, **මිනිසුන් පෘථිවියේ හැඩය සොයා ගත් හැටි** නමින් සිංහල බසට පරිවර්තනය කරන ලද්දේ දැදිගම වී. රුද්රිගු මහතා විසිනි. එම කෘතියෙන් උපුටා ගත් කොටසක් මේ පාඩමෙහි අන්තර්ගත ය.

**ලෝකය ගෝලාකාර බව මුලින් ම සිතුවේ කවුරු ද?**

මේ ප්‍රශ්නයට නිසි පිළිතුරක් දීමට අද කිසිවකුට නොහැකි ය. පුරාණයේ දියුණු වී පැවති සෑම රාජ්‍යයක ම බුද්ධිමතුන් සිටි අතර, ඔවුන්ගෙන් බහුතරය විවිධ හේතු නිසා ලෝකය ගෝලාකාර ය යන මතයට එළඹ සිටි බව කිව හැකි ය. නිදසුනක් වශයෙන්, පුරාණ ග්‍රීසියේ විසූ චින්තකයකු වන පයිතගරස් ඉතා ම ලස්සන ජ්‍යාමිතික හැඩය ගෝලය බව සිතී ය.

විශ්වයේ මධ්‍යස්ථානය වන පෘථිවියට වෙනත් රූපාකාරයක් තිබිය හැකි ද? පයිතගරස් සමග බොහෝ විද්‍යාඥයෝ එකඟ වූහ. එහෙත් එය ඔප්පු කරන්නේ කෙසේ ද? කිසිවකු තුළ සැක පහළ නොවන පරිදි එය විස්තර කොට නිදසුනකින් පෙන්වන්නේ කෙසේ ද? එවැන්නක් කිරීමට සමත් වූයේ පුරාණ ග්‍රීසියේ දාර්ශනික ඇරිස්ටෝටල් මහා පඬිවරයා ය.

හේ බොහෝ ඇසූ පිරූ තැන් ඇත්තෙකි. විද්‍යා විෂයයන් රැසක් ම හේ දත්තේ ය. ලෝක ප්‍රසිද්ධ යුද්ධ සෙනෙවි මහා ඇලෙක්සැන්ඩර් හෙවත් මැසිඩෝනියාවේ රජු වූ ඇලෙක්සැන්ඩර්ගේ ගුරුවරයා වූයේත් ඇරිස්ටෝටල් ය.

ඇතැන්ස් නගරයේ දාර්ශනික විද්‍යාලය විවෘත කරනු ලැබුවේත් ඇරිස්ටෝටල් විසිනි. එය පුරාණ ලෝකයේ ඉතා ප්‍රසිද්ධ විදුහල විය. ඇරිස්ටෝටල් මහා පඬිවරයාගේ කීර්තිය කොතරම් වී ද යත්: ඔහුට එක්වර ශිෂ්‍යයෝ බොහෝ ගණනක් වූ හ. ලෝකයේ බොහෝ රටවල් දිග්විජය කළ මහා ඇලෙක්සැන්ඩර් කිසි දිනක සිය ගුරුවරයා අමතක නොකළේ ය. විවිධ රටවල් ජය ගත් ඔහු තම ගුරුවරයාට ලියුම් සහ විරල තිළිණ එවී ය.

සැබෑ විද්‍යාඥයකු වූ ඇරිස්ටෝටල් නිරන්තරයෙන් යමක් පිළිබඳ ගැඹුරින් හැදෑරීමට කැමති විය. දැනීම නමැති ධනය ගොඩ ගසා ගැනීමට කිසිවෙක් ලැජ්ජා නොවෙති.

ඒ කාලයේ දී මිනිසා නොදත් අභිරහසක් ලෙස සැලකුණු දෙයකි, චන්ද්‍ර ග්‍රහණය. චන්ද්‍ර ග්‍රහණය සිදු වන්නේ කුමක් නිසා ද? යන පැනයට කිසිවකුට නිසි පිළිතුරක් දිය නොහැකි විය. චන්ද්‍රයාගේ රිදී වන් රැස් ලෝකයට අහිමි කරනු වස් දුෂ්ට බලවේග චන්ද්‍රයා සොරකම් කරන බව සමහරු සිතූහ. චන්ද්‍ර ග්‍රහණය නිසා කිසියම් විපතක්, සමහර විට යුද්ධය, එයත් සමග දුර්භික්ෂය හෝ මහාමාරිය වැනි භයානක වසංගත රෝග පැතිර යන බව වෙනත් අයගේ මතය විය. චන්ද්‍ර ග්‍රහණය නිසා වාතය විෂ වී, මිනිසුන්ට හුස්ම ගැනීමට නොහැකි වන බව කියන අය ද සිටියෝ ය. මෙය විශ්වාස කළ සමහර මිනිස්සු තමන්ගේ ගෙවල් යට ඇති බිම් ගෙවලට හෝ ගුහාවලට වැදී සැඟවුණෝ ය. වෙනත් මිනිසුන් කළේ තම ජනේල වසා දැමීම හා කවුළු, සිදුරු, පැළීම් වැනි දේ මැටි ගා වැසීම ය.



ඇරිස්ටෝටල් බියගුල්ලෙක් නො වීය. චන්ද්‍ර ග්‍රහණය කීප වරක් ම නිරීක්ෂණය කළ ඔහුට කිසිදු රෝගයක් හෝ නොවැලඳිණි. මේ විද්‍යාඥයාගේ නිරීක්ෂණයෙන් පසු ඔහු කළ නිගමනය මෙසේ ය: චන්ද්‍රයාට සහ සූර්යයාට මැදින් පෘථිවිය සිටින විට, පෘථිවියේ සෙවණැල්ල චන්ද්‍රයා මත වැටීමෙන් මේ චන්ද්‍ර ග්‍රහණය ඇති වේ. මේ සෙවණැල්ල හැමදා ම වටකුරු මන්ද?

ඇරිස්ටෝටල්, රොටියක් සේ වටකුරු පූපයක් ගෙන එය හිරු එළියට ඇල්ලී ය. එක් තැනෙක දී එය වටකුරු වුව ද පූපය හරවන විට අනික් තැන දී එය රිටක් සේ සිහින් විය. එසේ නම් පෘථිවිය වටකුරු පූපයක් වැනි සිහින් දෙයක් විය නො හැකි ය.



ඔහු දොඩම් ගෙඩියකින් අඩක් ගෙන හිරු එළියට ඇල්ලී ය. දොඩම් පළුවේ සෙවණැල්ල වටකුරු ලෙස පෙනෙන්නේ එහි කැපූ වටකුරු පැත්තට සහ මුදුනට හිරු රැස් වැටෙන විට ය. එහෙත් එහි වක්‍රයට සෙවණැල්ල වැටෙන විට, එය අර්ධ කවාකාර හැඩයක් ගනී.

පූර්ණ දොඩම් ගෙඩියකින් හෝ ඇපල් ගෙඩියකින් පමණක් පූර්ණ වටකුරු සෙවණැල්ල වැටෙන්නේ එය කිනම් පැත්තට කරකවනවා ද යන්න නොතකා ය.

"එසේ නම්, අපේ මේ පෘථිවිය පූර්ණ වටකුරු වස්තුවක් විය යුතු යැ යි තම සිසුන්ට කියා දුන් ඇරිස්ටෝටල්, නිගමනයට පැමිණි සැටි ද විස්තර කළේ ය. ශිෂ්‍යයෝ ගුරුතුමාගේ මහා බුද්ධිය නිසා ඉමහත් මවිතයෙන් නෙත් විදහා ගෙන ඔහු දෙස බැලූ හ.

ඔවුන්ට එක් දෙයක් වටහා ගත නොහැකි විය. ලෝක ගෝලයේ පහළ කොටසේ මිනිසුන් ජීවත් වන්නේ කෙසේ ද? හිස පහළට දමා ගෙන ඔවුන් ගමන් කරන්නේත්, පහළට නොවැටෙන්නේත් මක් නිසා ද?"

කෙසේ වතුදු මේ ප්‍රශ්නයට සෑහෙන පිළිතුරක් සැපයීමට ඇරිස්ටෝටල්ට නො හැකි විය. මිනිසුන් පමණක් නො ව, කඳු, ගෙවල්, ගංගා සහ සාගර පමණක් නො ව, වාතය පවා ගුරුත්වාකර්ෂණ බලයට හසු වී සිටින බව එදා කිසිවෙක් නො දත්හ. ඇරිස්ටෝටල් ද මෙය නොදැන සිටි හෙයින් ලෝක ගෝලයේ දකුණු භාගය ජනශූන්‍ය බව කී විට, ඔහුගේ ශිෂ්‍යයෝ සහ අනුගාමිකයෝ ද ඒ නිගමනය පිළිගත්හ. එසේ වුව ද, දක්ෂිණ අර්ධ ගෝලයේ මිනිසුන් වසන බව පෞරාණික යුගයේ උගතුන්ගෙන් සමහරෙක් කියා සිටියෝ ය.

**වර්තමානයේ අපගේ ලෝකය පිළිබඳ දැනුම මීට වඩා බොහෝ ඉදිරියෙන් ඇත. අප ජීවත් වන පෘථිවිය පමණක් නො ව අනෙකුත් ග්‍රහලෝක ගැන ද බොහෝ තතු අපි දනිමු. පොතපත, අන්තර්ජාලය භාවිතයෙන් අපට ඒ තොරතුරු දැන ගැනීමට ද හැකි ය. ඒ දැනුම දිනෙන් දින අලුත් වන්නේ ලෝකය පිළිබඳ තවදුරටත් විමසා බලන මිනිසුන් නිසා ය.**

## රස විඳිමු

මල්වල පාට අම්මේ, කවුරු ද ගෑවේ
දලු අතු පැළී ඒවා කොහොම ද ආවේ
මෙතරම් කැසුම ඇයි කහඹිලියා බූවේ
නිදිකුම්බා කොළේ මොකට ද නිදියෑවේ

කොළයෙන් අක්කපානා මුල් අදිනු පෙනේ
කෝමාරිකා මද සීතල මොකද අනේ
තුත්තිරි - කරල් හැබ ඇට මගෙ ඇඳුම කොනේ
තැවරෙයි මෙවැනි ගති කොහොම ද පුරුදු වුණේ

සමහර මල් තිබේ ලස්සන එමට ඇත
එනමුදු සුවඳ නම් ගෑවුණු තැනක නැත
සමහර මලක තනි සුදුමැලි පැහැය ගත
තිබුණත් සුවඳ පිනවයි දුටු අයගෙ සිත



සුදු පාටක් තිබේ දලුවල මුස්සැන්න
නා දලු කුරුඳු දලු රත් පැහැ පවතින්න
මදු දලු බුලත් දලු කොළ පාටින් එන්න
හැදුවේ කවුද මට ඕනෑ දැන ගන්න

පී. බී. අල්විස් පෙරේරා
'පැසුණු පැන' කවි පන්තියෙන් උපුටා ගත් කොටසකි

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. ඉතා ම ලස්සන ජ්‍යාමිතික හැඩය ගෝලය බව සිතූ චින්තකයා කවුද?
2. ඇරිස්ටෝටල් විසින් විවෘත කරන ලද පුරාණ ලෝකයේ ඉතා ප්‍රසිද්ධ විදුහල කුමක් ද?
3. 'චන්ද්‍ර ග්‍රහණය' පිළිබඳ ඇරිස්ටෝටල්ගේ නිගමනය කුමක් වී ද?
4. ඇරිස්ටෝටල්ට පිළිතුරු සැපයීමට නොහැකි වූ ප්‍රශ්නය කුමක් ද?
5. ඇරිස්ටෝටල් මහා පඬිවරයකු ලෙස සැලකීමට හේතු වූ කරුණු මොනවා ද?

## ක්‍රියාකාරකම

**සමානාර්ථ පද පාඩමෙන් සොයා ලියන්න.**

1. පොළොව
2. අතීතයේ
3. දුර්ලභ
4. දිනිසුරු
5. තරුපති

## පැවරුම

**මිනිසා සොබාදහම නිරීක්ෂණයෙන් පමණක් කාලය මැනීමට හා කාලගුණික වෙනස්කම් හඳුනාගැනීමට භාවිත කළ උපක්‍රම සොයා පන්තියට ඉදිරිපත් කරන්න.**



# 15 වෙසක් කැකුළු

"වෙසක් මහ මල් මහයි. මල් දකින විට මට වෙසක් සිහි වෙනවා. ඒ නිසයි මේ ගීය ලියැවුණේ, වෙසක් සමග මගේ ගීයත් ගැයේවා''යි කියා පතමින්. ඒ පැතීම තවමත් ඉටු වෙනවා." මර්සලින් ජයකොඩි පියතුමා මේ ප්‍රකාශය කළේ 'වෙසක් විනෝදය' නම් සිය ගී පද පෙළ වෙනුවෙනි. මේ ගී පද පෙළ 'රේඛාව' චිත්‍රපටය සඳහා ගීතයක් ලෙස නිර්මාණය විය. සුනිල් සාන්ත මහතා සංගීතය නිර්මාණය කළ මේ ගීතය ගායනා කළේ ඉන්ද්‍රානි විජේබණ්ඩාර මහත්මියයි. වෙසක් සමයේ පරිසරයේ සුන්දරත්වය පාදක කර ගත් මේ ගීත නිර්මාණය රස විඳිමු.

වෙසක් කැකුළු අතු අග හිඳ නටන විලාසේ
ඉරෙත් හඳෙත් සිරි විඳ විඳ රඟන විලාසේ
පියලි සලාලා - රේණු හලාලා

සුවඳ උරා සිසිල් සුළං හමන්නේ
ලොව මැ අවදි වෙමින් අමුතු පණක් ලබන්නේ

දවට ගහේ ගහ මුදුනේ කොහා හඬන්නේ
කෑරලා ද නාද දෙමින් ගහට කොටන්නේ
ටිං ටිං සද්දේ - ඒ මැද ඇද්දේ



ගම වට කර කුරුලු ගීත ඇසෙන්නේ
ලොව මැ අවදි වෙමින් අමුතු පණක් ලබන්නේ



කදා වළලු දෑත දිගේ ටිකිරි ලියන්නේ
ටිකිරි ටිකිරි වළලු හඬයි ළපටි ළඳුන්නේ
ගීත ගයන්නේ - ගයා නටන්නේ

කොලු කෙලි පොඩි ගී ගයමින් නටන්නේ
ලොව මැ අවදි වෙමින් අමුතු පණක් ලබන්නේ

## අවබෝධය

**ගීතය රස විඳ උත්තර සපයන්න.**

1. මේ ගීතය රචනා කිරීමට කතුවරයාට බලපෑ හේතුව කුමක් ද?
2. ගීතයේ සඳහන් නාද නිකුත් කරන සතුන් නම් කරන්න.
3. සුළඟ නිසා මේ පරිසරයේ සිදු වන වෙනස්කම් මොනවා ද?
4. ගීතයේ සඳහන් පරිදි අමුතු පණකින් ලොව පිබිදෙන අවස්ථා මොනවා ද?
5. මේ ගීතය රස විඳීමේ දී පරිසරය පිළිබඳ ඔබට හැඟෙන්නේ කුමක් ද?

## ක්‍රියාකාරකම

**මේ ගීතයේ අන්තර්ගත සමාන රිද්ම සහිත වචන සොයා ඉදිරිපත් කරන්න.**

උදා:- නටන රඟන
කෑරලා ද - නාද

## පැවරුම්

1. **මේ ගීතය ගායනා කරමින් රස විඳින්න.**
2. **'උදෑසනක අසිරිය' යන මාතෘකාව යටතේ වාක්‍ය පහක් ලියන්න.**




# ලුයී බ්රේල්

දෘශ්‍යාබාධිත පුද්ගලයන් භාවිත කරන කියවීමේ හා ලිවීමේ ක්‍රමය වන ‘බ්රේල් ක්‍රමය’ සොයා ගනු ලැබුවේ ප්‍රංස ජාතික ලුයි බ්රේල් විසිනි. ඔහුගේ චරිතය ඇසුරෙන් මාග්‍රට් ඩේවිඩ්සන් රචනා කළ ‘ලුයී බ්රේල්’ නමැති කෘතියේ සිංහල පරිවර්තනයෙන් උපුටා ගත් කොටසක් මේ පාඩමට ඇතුළත් වේ. මේ කෘතිය සිංහල බසට පරිවර්තනය කරන ලද්දේ එඩ්නා මල්කාන්ති මහත්මිය විසිනි.

වයස අවුරුදු තුනේ දී හදිසි අනතුරකින් සදහට ම දෘශ්‍යාබාධිත තත්ත්වයට පත් වූ පුංචි ලුයීට දිනෙන් දින මුහුණ පාන්නට සිදු වූ අභියෝග රැසකි. ඒ අභියෝග ජය ගනිමින් ඔහු දෙනෙතින් නො ව සවනින් ලෝකය හඳුනාගත් ආකාරය මෙහි සඳහන් වේ.

“බලාගෙනයි ලුයී පරිස්සමින්...”
“අනේ පරිස්සමින්...”
“නවතින්න... පුතේ නවතින්න...”
“බලාගෙනයි... පරිස්සමින් පුතේ... ලුයී.”

ලුයීගේ පවුලේ සැම මෙසේ කී වාර ගණන නිමක් නැත. එහෙත් කල් යෑමේ දී ඔවුහු ඒ පුරුද්ද අත්හැර දැමූහ. හැම දේකට ම ‘එපා...’ කීමෙන් ලුයී අසතුටට පත් වන අයුරු දැකීම ඔවුන්ට වඩාත් වේදනා ගෙන දුන්නේ ය. ලුයී අවට වූ දේ මොනවා ද, ඒවා සමග ලුයී ජීවත් විය යුත්තේ කෙසේ දැයි ඉගැන්වීමට බ්රේල් පවුල ම එකමුතු විය.

පරිසරයට බිය වීමට ද කිසිවක් තනිව ම කර ගත නොහැකි දරුවකු මෙන් වැඩෙන්නට ද ඉඩ නොදී ඔවුහු ලුයීට සාමාන්‍ය දරුවකුට මෙන් තමාගේ වැඩපල කර ගැනීමට කියා දුන්හ. ඔවුන්ගේ අසල්වැසියන් ලුයී ගැන බොහෝ කනගාටු වුවත් ලුයීගේ මවට හා පියාට වුවමනා වූයේ දරුවාට සාමාන්‍ය පුද්ගලයකු මෙන් ජීවත් වන අයුරු ඉගැන්වීමට ය. ඔවුන් ලුයීට සැලකුවේ ද අනෙක් සාමාන්‍ය දරුවන්ට සලකන අයුරිනි.

දෘශ්‍යාබාධිත වුව ද ඔහු ගෙදර දොරේ එදිනෙදා වැඩ කටයුතු තනිව ම කර ගැනීමට උගත්තේ ය. එක් දිනක් ලුයීගේ පියා සයිමන්, මෘදු කුඩා රෙදි කැබැල්ලකට පොලිෂ් ටිකක් ගෙන හම් ඔප දමන අයුරු දරුවාට කියා දුන්නේ ය. අත වේගයෙන් සොලවමින් හම් ඔප දැමුව ද එහි දිස්නය දැක ගැනීමට ලුයීට නොහැකි විය. එහෙත් ඔහු ටිකෙන් ටික ඔප වන, දිස්නය දෙන හම් කැබැල්ලේ මෘදු බව තම ඇඟිලි තුඩුවලින් හැඳින ගත්තේ ය.

ඔප දමූ හම් කැබලිවල වාටියෙහි මෝස්තර මැසීමට සයිමන් ලුයීට ඉගැන්වූයේ ය. මේ මෝස්තර සහිත හම් කැබලි අශ්ව ඇඳුම්වල තැනින් තැනට තබා විලාසිතාවකට එල්ලමින් අශ්ව ඇඳුම් හැඩ කර ගැනීමට ද ඔහු කියා දුන්නේ ය.



ලුයී තම මවගේ ගෙදර දොරේ වැඩකටයුතුවලට උදවු පදවු කළේ ය. සැම සැඳෑවක ම ලුයී රාත්‍රී කෑම මේසය සකසන්නට මවට උදවු වූයේ ය. ඔහු පිඟන් කෝප්ප හැඳි ගෑරුප්පු ආදිය නිසි තැන පිළිවෙළට තැබුවේ ය. සැම උදෑසනක ම ලුයී බීමට වතුර ගෙන ඒමට ළිඳට ගියේ ය. වතුර පිරුණු බරැති පනිට්ටුවත් රැගෙන කුඩා කඳු ගැට සහිත පටු පාරෙහි එන විට ලුයී බිම පෙරළී වතුර පනිට්ටුව ද ඉහිරී ගිය අවස්ථා බොහෝ ය. එහෙත් එය සමාවට කරුණක් නො වී ය. තමා නැවත ළිඳ ළඟට ගොස් වතුර රැගෙන පරිස්සමෙන් පැමිණිය යුතු බැව් ලුයී ඉගෙන ගත්තේ ය.

දිනක් සයිමන් බ්‍රේල් දිග මිටක් සහිත වේවැල් කෝටුවක් කපා තම පුතු අතට දුන්නේ ය. කොහේ හෝ ඇවිදින විට මේ කෝටුව තමා ඉදිරිපසින් එහා මෙහා වැනීමෙන් තමා අවට ඇති බාධා මොනවා දැයි දැනගැනීමට දූන් ලුයීට පුළුවන. ඇවිදින මඟ දෙපස කොතැනක හෝ කෝටුව වැදුණ හොත් තමා වෙනත් පැත්තකට හැරිය යුතු බැව් ලුයී තේරුම් ගත්තේ ය.



මේ වේවැල නැතිව කොහේ හෝ ඇවිදින විට තමා දොරක, බිත්තියක හෝ වැටක හැපී වැටෙන්නට ගිය අවස්ථා ගැන ලුයී කීවේ ය. එහෙත් ඔහු සමහර අවස්ථාවල වේවැල නැතිව ඇවිදින්න පුරුදු විය. ඔහු යනෙන විට සින්දුවක් කියන්න පටන් ගත්තේ ය.

"ඕ... මං සින්දු කියන කොට මට පේනව යන්න ඕන පාර මොකද්ද කියල..." ලුයී පැවසුවේ ය.

ඇත්තට ම ලුයීට පෙනීම ලැබී තිබුණේ නැත. ඔහු අනුගමනය කළේ වවුලන්ගේ චර්යා රටාවයි. එහෙත් වවුලන්ට නම් යන්තමින් හෝ පෙනේ. වවුලෝ රාත්‍රියේ ඝන අන්ධකාරය මැද ආහාර සොයා පියාඹා යති. උන් කිසිවක හැපෙන්නේ නැත. උන් එය කරන්නේ කෙසේ ද? වවුලෝ පියාඹා යන විට ශබ්ද නැඟීමට පුරුදුව සිටිති. එය උස් හඬින් නඟන අධිශබ්ද තරංග ය. මේ ශබ්ද තරංග අවට පරිසරය වෙත ගලා යයි. එහිදී යම් ඝන මතුපිටක මේ ශබ්ද තරංග වැදුණ හොත් ඒ ශබ්ද තරංග, සියුම් නාද රටාවක් සේ ආපසු හැරී එයි. ලුයී අනුගමනය කළේ ද වවුලන්ගේ මේ නාද රටා චර්යාව ම ය.



ලුයී බොහෝ දේ ඉගෙන ගත්තේ ය. ඔහු වැඩෙන්නට වැඩෙන්නට ඔහු ගැන වූ ආත්ම විශ්වාසය ද වඩ වඩාත් තීව්‍ර විය. නොබෝ දිනකින් ම ලුයීගේ වේවැලෙහි ටැප්... ටැප්... ටැප්... නාදය කෝප්වෙරි නගරයේ වටකුරු ගල් යොදා හැඩ කළ මංමාවත්වල ගීතයක් සේ ඇසෙන්න වූයේ ය. සමහර අවස්ථාවල ලුයීට මං මාවත් සොයා ගත නොහැකි වුව ද ටික කලකින් ඔහු සියලු දේ නිවැරදිව කරන්න පුරුදු විය. මංමාවත් දිගේ ඇවිදින විට ගිනි උදුනේ රස්නයෙන් ද පිලිස්සෙමින් සුවඳ හමන රස කැවිලිවල සුවඳින් ද තමා ගමන් කරන්නේ බේකරිය ළඟින් යැයි කීමට ලුයී දැන සිටියේ ය. හැඩයෙන් හා පෙරළෙන විට නැඟෙන ශබ්දයෙන් ඒ ඒ දේ කුමක්දැයි කීමට තරම් ඔහු සංවේදී වූයේ ය. එහෙත් මේ සියල්ලට වඩා වැදගත් වූයේ අවට පරිසරයේ හඬයි. ලෝකය පවතින බැව් කියනා ශබ්ද යි.

ඩෝං...ග්... ඩෝං...ග්...ඩෝංග්ග්ග්.... ඒ ඇහෙන්නේ ගම්මානයේ ඇති ඉපැරණි පල්ලියේ සණ්ටාව වදින හඬයි. අල්ලපු ගෙදර බල්ලා නඟන හඬ, දෙමළිච්චෙකු කාටදෝ ඇසෙන්නට කරච් කරනා හඬ, හෝ....හෝ... හඬ නඟමින් ගල් කුළු මතින් දඟ පාමින් ගලා යන දිය පහරේ නාදය වැනි මේ සියලු නාද රටා ලුයීට පරිසරයේ සොඳුරු බව කියා දුන්නේ ය. මේ නිසා ඔහුට තමා ඇවිදිමින් සිටින්නේ කොහේ දැයි කියා පහසුවෙන් වටහා ගත හැකි විය. ගෙට ඇතුළු වන දොරටුව පාමුල වූ පඩියෙහි ඉඳ ගෙන පාරේ යන එන පුද්ගලයන්ගේ නම් හඬ ගෑම ලුයීගේ ප්‍රීතිමත් ම විනෝදාංශය විය. ඇත්තට ම ඔහුට වැරදුණේ නැති තරම් ය.

"ඔයා කොහොම ද ලුයී හැම කෙනා ම හොඳට අඳුනන්නෙ...?" බොහෝ දෙනාට එය ප්‍රශ්නයක් විය.

"අයියෝ... ඒක හරි ම ලේසියි..."

රෝද හතරේ වාහනයක් දුවන ශබ්දයට වඩා වෙනස් හඬක් නඟමින් රෝද දෙකේ කරත්තය ඇදී යයි. එමෙන් ම හැල්මේ දුවන අශ්වයන් ගොන්නකගේ ක්ලිප්... ක්ලොප්... ක්ලිප්... ක්ලොප්... නාදයට වඩා වෙනස් හඬ තාලයක් විය ගහේ බඳින අම්බරුවන්ගෙන් ඇසෙයි. ඒ ප්ලොඩ්... ප්ලොඩ්... ප්ලොඩ්.... ප්ලොඩ්... යනුවෙනි.

මිනිසුන්ගේ ශබ්ද මීට වඩා බොහෝ සෙයින් වෙනස් ය. කෙනෙක් බැරෑඩි හඬකින් කථා කරයි. තවත් කෙනකුට තම දත් අතරින් විසිල් කරමින් කථා කිරීමේ පුරුද්දක් පවතී. තව මිනිසකු ඇවිදින්නේ නොණ්ඩි ගසමිනි.

"හැබැට ම ඔයාලා ඒවා දකලා නැද්ද..." ලුයී සමහර අවස්ථාවක එසේ අසයි.

"මිනිසුන් ගැන විස්තර දැන ගන්න බොහෝ ක්‍රම තියෙනවා. හැබැයි ඔයගොල්ලො හොඳට ඇහුන්කන් දුන්නොත් විතරයි."

## රස විඳිමු



දෑස් අඳ නුඹ දෑත
දෑස් දහසක් සේ මැ පිරිපුන් ය

ඇඟිලි තුඩු හා දොඬන අකුරු කැටයම් අතර
ළහිරු හිරු එළිය නොවැ ගලන්නේ

නොපමාව නුඹෙ දෑත සිප ගනුව
ජීවිතේ කඳුළ දෝතින් ම ගෙන විඳ ගනුව
නැණ නුවණ මලක් වී
පිපෙයි හෙට උදයේ ම ඉවසනු ය

මහාචාර්ය සමන්ත හේරත්
(**සියපත සුවඳ** කාව්‍ය සංග්‍රහයෙන්
උපුටා ගත්තකි.)

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. ඔප දැමූ හම් කැබැල්ලේ දිස්නය ලුයී තේරුම් ගත්තේ කෙසේ ද?
2. ලුයී මවට උදවු ලෙස නිවසේ දී කළ වැඩ කටයුතු මොනවා ද?
3. සයිමන් බ්රේල් සපයා දුන් වේවැල් කෝටුවෙන් ලුයීට වූ පහසුව කුමක් ද?
4. ලුයී අනුගමනය කළේ වවුලන්ගේ කුමන චර්යා රටාව ද?
5. ලුයීගේ චරිතයෙන් ඔබට ගත හැකි ආදර්ශ මොනවා ද?

## පැවරුම්

1. **"මට ලුයී වැනි මිතුරකු සිටිය හොත්" යන මාතෘකාව යටතේ රචනයක් ලියන්න.**
2. **අභියෝග ඉදිරියේ නොසැලී ජීවිතය ජය ගත් දේශීය හෝ විදේශීය චරිත කථා සොයා, ඒවා ඔබේ මිතුරු මිතුරියන් අතර හුවමාරු කර ගන්න. ඒ ඇසුරෙන් පහත වගුව සම්පූර්ණ කරන්න.**

| නම | රට | විශේෂ හැකියාව |
|---|---|---|
| | | |



# 17 දිරියෙන් දිවිය දිනූ ජීවක

දඹදෙණි යුගයේ දී මයූරපාද පරිවේණාධිපති බුද්ධපුත්‍ර හිමියන් ලියූ පූජාවලිය නම් ග්‍රන්ථයෙහි එන ජීවක කුමාරයාගේ කතාව ඇසුරෙන් මේ පාඩම සකස් කර ඇත. කැපවීමෙන් සහ උනන්දුවෙන් අධ්‍යාපන කටයුතුවල යෙදී ජීවිතය සාර්ථක කර ගත් චරිතයක් ලෙස ජීවක චරිතය හඳුනා ගත හැකි ය. ඒ චරිතයෙන් අපේ ජීවිතයට ගත හැකි ආදර්ශ විමසා බලමින් මේ පාඩම කියවමු.

දඹදිව රජගහ නුවර 'ජීවක' නම් කුමාරයෙක් විසී ය. වයස අවුරුදු අටක් පමණ වූ කල ඔහු මෙසේ සිතුවේ ය. "මගේ අනාගත ජීවිතය සාර්ථක කර ගැනීමට නම් හොඳ අධ්‍යාපනයක් ලැබිය යුතු ය. කිසිවකුට හිංසාවක් සිදු නොවන, යහපත ම සිදු කළ හැකි විෂයයක් ඉගෙනීම සුදුසු ය." ඒ අනුව, මිනිසුන්ට උපකාර කළ හැකි වෛද්‍ය ශාස්ත්‍රය හදාළ යුතු බව ඔහු තීරණය කළේ ය. එකල අධ්‍යාපන ක්‍රමය වූයේ ගුරු ගෙදර නේවාසික ව ඉගෙනීම යි.

තක්සලා නුවර දිසාපාමොක් ඇදුරුතුමා වෙත ගිය ජීවක, වෛද්‍ය ශාස්ත්‍රය ඉගෙනීමට ඇති වුවමනාව කියා පෑවේ ය. ආචාර්යභාගය සඳහා තමා අත මුදල් නැති බැවින් ගුරුතුමාට සහාය වෙමින් ඉගෙනීමට අවසර පැතී ය. දිසාපාමොක් ඇදුරුතුමා ජීවකට වෛද්‍ය ශාස්ත්‍රය ඉගැන්වීමට එකඟ විය. එතුමා යටතේ ජීවක සත් අවුරුද්දක් උගත්තේ ය. සත්වන වසර අවසානයේ ජීවකගේ දැනුම පරීක්ෂා කිරීමට ගුරුතුමාට අවශ්‍ය විය. ඔහු ජීවක අමතා මෙසේ කී ය.



“ඔබට දින හතරක් දෙමි. මේ නුවර සතර වාසල් දොරින් නික්මී යොදුන් සතර බැගින් යන්න. එසේ ගොස් බෙහෙතක් සඳහා ගත නොහැකි මුලක්, මලක්, පොත්තක්, අත්තක්, ඵලයක්, කොළයක් සොයා ගෙන එන්න.”

ගුරුතුමාගේ උපදෙස් පරිදි ජීවක බෙහෙත් සඳහා ගත නොහැකි යමක් සෙවී ය. එහෙත් ඒ වෑයම නිෂ්ඵල විය. ඔහු යළිත් ගුරුතුමා වෙත ආවේ ය.

“ගුරුතුමනි, මේ ලෝකය බෙහෙත්වලින් ම මවා ඇති සේ ය; ඖෂධ කළයක් වැනි ය. දින හතරේ ම සෙවූවත් බෙහෙතකට ගත නොහැකි මුලක්, මලක්, පොත්තක්, අත්තක්, ඵලයක්, කොළයක් සොයා ගත නොහැකි විය,” ජීවක දිසාපාමොක් ඇදුරුතුමාට කී ය.

ඇදුරුතුමා බෙහෙවින් සතුටට පත් විය. “ඔබ දැන් වෛද්‍ය ශාස්ත්‍රය හොඳින් උගෙන ගෙන අවසාන ය. නැවත ඔබගේ රාජ්‍යය වෙත ගොස් ජීවත් වීමට සුදුසු කාලය පැමිණ ඇත.” එසේ ප්‍රකාශ කළ එතුමා අතරමග දී අවශ්‍ය විය හැකි උපකරණ ද සපයා තම ශිෂ්‍යයාට සමු දුන්නේ ය. ජීවක සිය ගුරුතුමාට කෘතඥතාව පළ කොට රජගහ නුවර බලා පිටත් විය.

ජීවක කුමාරයාගේ ගමන් මග අතර තුර සාකේත නම් නුවරක් විය. සාකේත නුවර මහත් වූ සැප සම්පත් ඇති සිටුවරයකුගේ දේවියට තදබල හිසේ කැක්කුමක් තිබුණේ ය. අවුරුදු හතක් තිස්සේ ම මේ හිසරුදාවෙන් පීඩා විඳීම නිසා ඇය සිටියේ මහත් කලකිරීමෙනි. වෛද්‍යවරුන් ඇයගේ ශීර්ෂාබාධය සුව කිරීමට උත්සාහ කළ ද එය අසාර්ථක වී තිබිණි. ඇයට ජීවිතය පවා එපා වී තිබිණි. මේ සියලු තොරතුරු දැන ගත් ජීවක කුමාරයා තමාට සිටු දේවියගේ ව්‍යාධිය සුව කළ හැකි බව දන්වා යැවුවේ ය. සිටු දේවිය ජීවක වෛද්‍යවරයා පිළිබඳ තොරතුරු විමසා බැලුවා ය. ජීවක වෛද්‍යතුමා ඉතා ළාබාල බව ඇයට දැනගන්න ලැබිණි. සිටු දේවියට සිනා පහළ විය.

“මේ රටේ ප්‍රසිද්ධ වෛද්‍යවරුන් පැමිණ ප්‍රතිකාර කළ ද එයින් ප්‍රතිඵලයක් අත් වූයේ නැත. මේ පුංචි දරුවා මගේ හිසරුදාව සුව කරන්නේ කෙසේ ද?” යැයි පවසා ඔහුට බඩගිනි ඇත් නම් සිටු මැඳුරෙන් බත් ඉල්ලා ගෙන කා තවත් අවශ්‍ය දේ ඇත්නම් ඉල්ලා ගෙන ආපසු යන ලෙස දන්වා යැවුවා ය. ජීවක කුමාරයා ඒ අසා මෙසේ පැවසී ය;

“ඉගෙනීමට බාල ය, වැඩිහිටි ය කියා වෙනසක් නැත. මම වෛද්‍ය ශාස්ත්‍රය දනිමි. මගේ වයසින් ඵලක් නැත. සිටු දේවියගේ හිසරුදාව සුව කර මිස නො යමි.”

සිටු දේවිය, ජීවක කුමාරයාගේ මේ වචන අසා මහත් සතුටට පත් වී ඔහු තමන් හමුවට කැඳවූවා ය; විස්තර විමසුවා ය. ජීවක කුමාරයාට අවශ්‍ය පහසුකම් ද සැපයුවා ය.

“ජීවක වෛද්‍යතුමනි, මා හට අවුරුදු හතක් තිස්සේ ම නින්දක් නැත. ඒ නිසා හිසරුදාව සුව කර එක් දවසක් හෝ නිදා ගන්නට සැලැස්වුව මැනවි.”

ජීවක ද “ඉතා ඉක්මනින් හිසරුදාව සුව කරමි” යි කියා බෙහෙත් කිරීම ආරම්භ කළේ ය. ඔහු ගිතෙල් ස්වල්පයක් ගෙන්වාගෙන ඒවා තවත් නොයෙක් ඖෂධ වර්ග සමග මිශ්‍ර කර තෙලක් සින්දේ ය; ඒ තෙල් සිටු දේවියගේ නාසයෙන් ඇතුළු කළේ ය. තෙල් උරා ගැනීමත් සමග එයින් කොටසක් හිසට ගියේ ය. ඉතිරි කොටස මුඛයට ඇතුළු විය. මුඛයට ඇතුළු වූ කොටස සිටු දේවිය බිමට දැම්මා ය. අනතුරුව ඇය තම සේවිකාවන් කැඳවා මෙසේ කීවා ය.

“සේවිකාවනි, මේ බිම ඇති තෙල්, පුලුන්වල පොඟවා ආරක්ෂාකාරීව තබන්න”



ජීවක කුමාරයාට මේ පිළිබඳ කුතුහලයක් ඇති විය. සිටු දේවිය මහත් ලෝභ තැනැත්තියක විය හැකි යැයි ඔහු සිතුවේ ය. එයින් ඔහු කලකිරීමට පත් විය. සිටු දේවියට ජීවක කුමාරයා සිතූ කාරණය වැටහිණි. එනිසා සිටු දේවිය ජීවක ඇමතුවා ය;.

“දරුව, අසීරුවෙන් සම්පත් උපයන ආකාරය දනිමි; එසේ ම ඒ සම්පත් වියදම් කරන ආකාරයත් දනිමි. එහෙත් නිකරුණේ ඒවා විනාශ කරන ආකාරය නො දනිමි. බිම වැටුණු තෙල්, පුලුන්වල පොඟවා තැබූ කල ඒවායින් ප්‍රයෝජන ගත හැකි ය. ඒ තෙල් පහන් දැල්වීමට ගත හැකි ය. නැතිනම් කෙනකුගේ අතපයෙහි හෝ ගෑ හැකි ය.”

ජීවක කුමාරයා, සිටු දේවිය කියූ කරුණු අසා ඉතා සතුටට පත් විය. සිටු දේවියගේ හිස ගැල්වූ තෙල් නිසි ආකාරයට උරා ගැනීම හේතුවෙන් ඇයගේ හිසරුදාව සුව විය. හත් අවුරුද්දක් තිස්සේ පීඩා විඳි රෝගය සුව වීම නිසා සිටු දේවිය ඉතා සතුටට පත් වූවා ය. ඇය ජීවක කුමාරයාට ස්තුති කර, තෑගි බෝග විශාල ප්‍රමාණයක් පිරිනැමුවා ය. ජීවක කුමාරයා ද මහත් සතුටින් තම නෑ.හිත.මිතුරන් මුණගැසීම සඳහා රජගහ නුවරට යන්නට පිටත් විය.

## අරුත් පැහැදිලි කිරීම

| | |
|---|---|
| නේවාසික | වාසය කරන |
| ආචාර්ය භාගය | ගුරුතුමාට ගෙවන ගාස්තුව |
| ඇදුරුතුමා | ගුරුතුමා |
| නිෂ්ඵල | ප්‍රයෝජනයක් නැති |
| කෘතඥතාව | කළ උපකාරය උසස් කොට සැලකීම |
| ශීර්ෂාබාධය | හිසේ ආබාධය |
| ව්‍යාධිය | රෝගය |
| ඖෂධ | බෙහෙත් |
| ශාස්ත්‍රය | විෂය/ ශිල්පය |

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. ජීවක කුමාරයා වෛද්‍ය ශාස්ත්‍රය ඉගෙනීමට ගියේ කා ළඟට ද?
2. ජීවක කුමරු තම ගුරුවරයාට සහාය වෙමින් සිප්සතර හැදෑරීමට අවසර පැතුවේ ඇයි?
3. ගුරුතුමා ජීවක හොඳින් වෛද්‍ය ශාස්ත්‍රය හදාරා ඇත් දැයි පරීක්ෂා කළේ කුමන ආකාරයට ද?
4. සාකේත නුවර ජීවත් වූ සිටුවරයාගේ දේවියට වැලඳී තිබුණු රෝගය කුමක් ද?
5. සිටුදේවිය තම මුඛයෙන් බිමට දැමූ තෙල් ආරක්ෂා කරන්න යැයි සේවිකාවන්ට කීවේ ඇයි?

## ක්‍රියාකාරකම

**පහත දැක්වෙන වචන යොදා වාක්‍යය බැගින් නිර්මාණය කරන්න.**

1. නේවාසික
2. ඖෂධ
3. ශාස්ත්‍රය
4. ප්‍රයෝජන
5. ශීර්ෂාබාධය

## පැවරුම්

1. **'රෝගීන්ට උපකාර කිරීමේ වැදගත්කම' යන මාතෘකාව යටතේ පන්තිය ඉදිරියේ කතාවක් කරන්න.**
2. **'උගත මනා ශිල්පයමයි මතු රැකෙනා' මේ මාතෘකාව යටතේ වාක්‍ය රචනයක් ලියන්න.**
3. **පහත මාතෘකාවලින් එකක් තෝරා ගෙන, ඔබේ අදහස් ඉදිරිපත් කරන්න.**
   - මා රෝගියකුට උපකාර කළ අවස්ථාවක්
   - රෝගී තැනැත්තකු වෙනුවෙන් අපට කළ හැකි උපකාර



# 18 නුවණින් ම තෝරමු

ආහාර අප ජීවිතයට අත්‍යවශ්‍ය දෙයකි. සෙල්ලම් කිරීමට, වැඩ කිරීමට, ඉගෙනීමට මෙන් ම නීරෝගීව, ක්‍රියාශීලීව වර්ධනය වීමට ද අපට ආහාර උවමනා වේ. ඒවා අපට ශක්තිය හා පෝෂණය ගෙන දෙයි. වෛද්‍ය නුවන් තොටවත්ත මහතා රචනා කළ මේ පැදි පෙළ ආහාර පිළිබඳ ලියැවුණකි. එය තාලයට ගායනා කරමින් රස විඳිමු.

උදේ ඉඳන් රෑ වන තුරු
ගෙවෙන සිරුර යළි හදන්න
ඉස්කෝලෙදි කරනා වැඩ
හොඳින් මතක තියා ගන්න

දුව පැන සෙල්ලම් කරන්න
ක්‍රීඩාවෙන් ජය ලබන්න
ඉගෙන ගනිමු අපි හැමෝම
හරි විදිහට කෑම කන්න

තිරිඟු කුරක්කන් අල
බත් සහ කොස් දෙල්වල
පිෂ්ටය ඇත කැවොතින්
ලැබෙයි අපට සවි බල



මස්, මාළු ද බිත්තර
පියලි ඇට ද කරවල
කොළ සහ එළවළුවල
යකඩ තිබේ යහමින

හොඳින් ඉගෙන ගන්නට
ඇඟ ලේ වඩවන්නට
මතකය වැඩි කෙරුමට
යකඩ ඕනෑ සැම විට

කරනා සම පියකරු
රකිනා ඇස් නිරතුරු
ඛනිජ ලවණ, විටමින් පිරි
රස අහරකි පලතුරු

කිරි යෝගට් මී කිරි
අහර කැල්සියම් පිරි
ඇට කටු දත් වෙයි සවිමත්
ගත්තොත් වන ලෙස සරි

ඇඟ ඇතුළේ වෙන හැම
දෙයට ම බෑ නැතුව ම
ඇති වෙන්නට වතුර බොන්න
මතක තියා ගනු මැන



වැඩිපුර ලුණු හොඳ නැති
මැනලා කෑවොත් වටී
එක දවසට එක්කෙනකුට
කෑ හැකි තේ හැන්දකි

නෙක නෙක පැණි රස ඇතා
සීනි ගොඩක් එහි වෙතා
කන්න කන්න ළං වෙනවා
දියවැඩියාවට ඉතා

කඩවල ඇති තෙල් බේරෙන
කෑමවලින් ඈත් වෙන්න
හදවත, අක්මාව දෙක ම
ලෙඩ වන බව සිහි කරන්න

රස වැඩි කර ගන්න දමන
රසකාරක නිසා ඔන්න
වෙන්නේ නම් පොඩි කාලෙ ම
එක එක ලෙඩ හදා ගන්න

මොනව ද අප කෑ යුතු
නුවණින් තෝරමු මතු
රසයට නො ම වී නතු
ගුණයට තැන දිය යුතු



## රස විඳිමු

සිත නෙත පිනවාලමී
බඩ කට නිති පුරවමී
යහ ගුණයක් නොබලමී
රසයෙන් පෙරට ම එමී

තෙල් ගා දිලිසෙන නිසා
දිව අග හිනැහෙන තොසා
කර ගා හැපෙනුව අසා
කවරෙක් කියති ද දොසා



රස මත නිති වළකමී
වස විස කට නොතබමී
ගහ කොළ ගුණ හඳුනමී
රස පල වැල වළඳමී

කඩපිල් සල්පිල් අස
බඩ කට පිනවන යස
කඩ කෑමෙන් නෙක රස
වැඩ වෙද පිරුණත් කුස

විපුලි නිරෝෂිණි හෙට්ටිආරච්චි

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. මේ පාඩමේ කියවෙන ශක්තිය ගෙන දෙන ආහාර මොනවා ද?
2. ඛනිජ ලවණ හා විටමින් බහුල ආහාර පරිභෝජනයෙන් අපට ලැබෙන ප්‍රයෝජන මොනවා ද?
3. අධික මේදය සහිත ආහාර ගැනීමෙන් ශරීරයට සිදු වන හානිය කුමක් ද?
4. නිවැරදි ආහාර පුරුදු නිසා අපට ලැබෙන ප්‍රයෝජන මොනවා ද?
5. මේ පද්‍ය පන්තියේ අවසාන කවියෙහි අර්ථය ඔබේ වචනයෙන් ලියන්න.

## ක්‍රියාකාරකම්

**1. ඔබ වඩාත් ප්‍රිය කරන ආහාර පහත වගුව අනුව ලැයිස්තුගත කරන්න.**

| හිතකර ආහාර | අහිතකර ආහාර |
|---|---|
| | |

**2. උදේ, දවල් හා රාත්‍රී ආහාර වේල් සඳහා ඔබ කැමති ආහාර වර්ග ඇතුළත් කර, ශරීරයට හිතකර සමබල ආහාර වේල් තුනක් සැලසුම් කරන්න.**




# 19 ලංකාවට සම්ප්‍රාප්ත වීම

විලියම් නයිටන්ගේ Forest Life In Ceylon (1854) නම් පොත **ලක්බිම වන සැරිය** නමින් සිංහල බසට පරිවර්තනය කරන ලද්දේ මනෝ ප්‍රනාන්දු මහතා විසිනි. චාරිකා සටහන් පොතක් වශයෙන් සැලකිය හැකි එයින් උපුටා ගත් කොටසක් මේ පාඩමට ඇතුළත් වේ. නැව් මගින් පැමිණෙන විදේශිකයන් පිරිසක් අප රටට ගොඩ බැසීමට ආසන්න මොහොතේ ඔවුන් තුළ ඇති වන නොසන්සුන් ස්වභාවය, කුතුහලය මෙහි විවරණය වේ. අප රට පිළිබඳ විදේශිකයන් දක්වා ඇති අදහස් කිහිපයක් දැන ගැනීමට ඉඩ සලසන මේ පාඩම කියවමු.

මම පාර්සි නෞකාවේ බරාඳයට නැඹුරුව, ඉමක් කොනක් නැති මහ සයුරේ සන්සුන්ව ඉහළට පහළට පා වෙන කුඩා සිප්පිය දෙස බලා උන්නෙමි. සුක්කානම හසුරුවන ආකාරයට කුඩා සිප්පිය ද උස් පහත් වේ. කපිතාන්වරයා වරින් වර දූරදක්නයෙන් හාත්පස නැරඹී ය. සැබවින් ම ඔහු කුතුහලයෙන් යුතුව චමත්කාරජනක විශ්වය මහත් ඕනෑකමින් නරඹයි. එක්වර ම ඔහු ප්‍රධාන නැවියා දෙස බලා, “ආ! අර පේන්නේ ගොඩබිමක්! මට එය හොඳින් පේනවා” යි පහත් හඬින් පැවසී ය.

“ඔබට පේන්නේ කුමක් දැයි මම ඇසුවෙමි.’’

“ලංකාව!” ඔහු කී ය.

“අපට අද හොඳින් නැරඹිය හැකියි” ඔහු පිළිතුරු දුන්නේ ය.

ඔහු මා අත දූරදක්නය තැබී ය. නෞකාවේ මගීහු මේ ශුභ ආරංචියෙන් කුල්මත්ව අප වට කර ගෙන ගොඩබිම නැරඹීමට උත්සුක වූ අතර, තමන්ට දූරදක්නයක් ලැබෙන තෙක් නො ඉවසිල්ලෙන් බලා සිටියහ. මගේ දෙනෙතට

වෙහෙසක් දැනුණු නමුත් පෙන්වන ලද දිශානතිය ඔස්සේ දූරදක්නය එල්ල කොට බැලුවෙමි. ඉන් පසු මම කාචය පිස දමා නැවත නැවතත් දූරදක්නය සකස් කළෙමි. මෙසේ කොට නැවත උද්‍යෝගයෙන් හාත්පස නැරඹුවේ ප්‍රීතිජනක දසුනක් නැරඹීමට ය. එහෙත් එය නිෂ්ඵල වෑයමකි. මම තව ම ලංකාව නො දුටුවෙමි. අනෙක් මගීන්ගේ උත්සාහයන් ද අසාර්ථක විය. කෙසඟ සිරුරකින් යුත් කහ වර්ණ හිසකෙස් ඇති, තම නාවික ඇඳුම සම්බන්ධව උජාරුවෙන් සිටි මිනිසෙක් නාවික දැනුම උපයෝගී කොට ගෙන මහ සයුර නරඹා "මම දුටුවා" යි පැවසූ නමුත් කිසිවෙක් ඔහු කියූ දේ මායිම් නො කළහ.



පසුව කපිතාන්වරයා සුක්කානම හසුරුවන පුද්ගලයා දෙස බැලී ය. "ඔබට පේන්නේ නැද්ද? හරි ම පුදුමයි; ඉතා ම හොඳින් පේනවා නේ! නැවත වතාවක් මුහුදු ඉම දෙස බලන්න" යැයි කියමින් ඔහු ඉවතට ගියේ ය.

මම නැවත වතාවක් බැලුවෙමි. තවමත් විනිවිද යා නො හැකි මීදුම් පටලයකි. මුළු හාත්පස ම අපැහැදිලි ය.

"ඇත්තට ම, ඉතා හොඳින් පේනවා" යැයි පවසමින් ප්‍රධාන නැවියා ද ඉවත්ව ගියේ ය.

අප මත පතිත වන සූර්යයාගේ දැඩි රශ්මිය අප්‍රමාණ පීඩාවක් ඇති කරයි. මෙසේ මැයි මස අවසාන වන තෙක් හිරු නිරක්ෂයෙහි දැඩි තාපයක් නිකුත් කරයි. අපි සියලු දෙනා ම උදුනක මෙන් දැවෙමින් සිටිමු. නැව් තට්ටුව දැඩි ආලෝකයෙන් දරුණු ලෙස උණුසුම් වී ඇත. කඹවල මුසු වී ඇති තාර දැවී ඇලෙයි. කැලඹුණු වියළි සුළඟ කැඩුණු බිඳුණු හිරු ආවරණයේ ලෑලි අතරින් මලානික ලෙස ගලා එයි. අපගේ නළල දිගේ ගලන දහඩිය බින්දු එකිනෙක ගෙල මතට රූටා වැටේ. මෙයින් තවමත් අපගේ ශරීරය පුරා තෙතමනය දැවටී ඇති බව පෙනේ.



අප කෙසේ හෝ ලංකාව නැරඹිය යුතු යැයි මගීහු දැඩි අධිෂ්ඨානයෙන් යුතුව කියා සිටියහ. අපි සියලු දෙනා ම සමූහයක් වශයෙන් දැඩි අවු රශ්මිය මධ්‍යයේ ම නෞකාවේ ඉදිරිපසට ආවෙමු. හීන්දෑරි මිනිසා අපගේ නො ඉවසිලිමත් සාගර සිහිනය පිළිබඳ සිනා සී අප පිටුපසින් ම ආවේ ය. කාන්තාවෝ තම ලේන්සු සහ වේල්වලින් හිසත් ගෙලත් වසා ගනිමින් එකිනෙකා පිටුපසින් ආවෝ ය.

"මෙතැන තමයි හොඳ ම තැන" යැයි අපි සියලු දෙනා ම මහ හඬින් කීවෙමු. අපි තුවක්කු මානන ලෙසින් දුරදක්න අතට ගත්තෙමු. සමහරු නැව්

තට්ටුවෙන් ඉහළ කොටසේ ද තවත් සමහරු ලෑලි පෙට්ටි මත ද නැගී බලාපොරොත්තු සහගත ලෙස හාත්පස නැරඹූහ. තවමත් ඈතට යොමු වී ඇත්තේ බලාපොරොත්තු සුන් වූ දෙනෙත් ය. කිසිදු දර්ශනයක් නො පෙනේ. අප දොඹකර බාහුව අසලින් නැරඹූ විට පවා සයුරු ඉමෙහි වැලි කන්දක් හෝ දකින්න නො තිබිණි. අපට ඉදිරියෙන් දිස් වූයේ විනිවිද යා නො හැකි ගුප්ත මීදුම් පටලයත් ඉන් ඈතට විහිදුණු සාගරයත් පමණි. සත්තකින් ම අපගේ දෑසට ගොඩබිමක් නම් නො පෙනිණි. කාන්තාවෝ දැඩි සේ විඩාවට පත්ව සිටියහ. එහෙත් එක් කාන්තාවක් පමණක් යමක් පැහැදිලිව දුටු බවක් පැවසුවා ය.

"හුරේ!" යැයි කහ වර්ණ හිසකෙස් ඇති මිනිසා ප්‍රබෝධයෙන් කෑගැසුවේ ය. "ඔබ දුටුවා ද?, මම කාචය සකස් කළා. ඔබ හොඳින් නිරීක්ෂණය කළේ නම් දකින්න ඇති."

ඇය කාචය සකස් කර නැවත බැලුවා ය. "මට විතරක් දෙවියන් යහපතක් කරන්නේ නැහැ" යැයි කියූ ඇය "ඒක දොඹකරේ බාහුව" යි කීවා ය.

අපගේ නෞකාවේ ප්‍රධාන නිලධාරියා වූයේ කපිතාන්වරයා ය. ඔහුගේ හා කහ වර්ණ කෙසැති මිත්‍රයාගේ තියුණු දෙනෙත්වලට ඉදිරියෙන් ඇති කීර්තිමත් දිවයින පෙනෙන්නට තිබුණු නමුත් අපට නම් යාන්තමට හෝ දකින්නට නො ලැබිණි. සැබවින් ම අපි ඒ පිළිබඳ කනස්සල්ලට පත් වූයෙමු. තවමත් එසේ ම ය. මෙසේ මුළු දිනය ම ගෙවිණි. අප වික්‍රමාන්විත අයුරින් ද නො පසුබට උත්සාහයෙන් ද හිරු රශ්මිය සමග පොර බදමින් නැවත නැවතත් දිවයින බැලීමට උත්සාහ ගත් නමුත් කිසිදු ඵලදායි ප්‍රතිඵලයක් අත් නො වී ය.

අවසානයේ දී අපි සියලු දෙනාගේ ම නිගමනය වූයේ කපිතාන්වරයාට ද ප්‍රධාන නැවියාට ද කෙසඟ සිරුරැති මිනිසාට ද ගොඩබිම දක්නට හැකි වූයේ, ඔවුන් ගොඩබිම එහි තිබෙන බව මෙයට ප්‍රථම දැන සිටි හෙයින් ය යන්න ය. ඔවුන්ගේ පරිකල්පනය ඒ සුවිශේෂ හේතුව සමග බද්ධ වී තිබිණි.

එදින චන්ද්‍රයා නැති, තාරකා එළියෙන් බැබළුණු රාත්‍රියක් විය. අප ඒ දිශානතිය ඔස්සේ මහත් ඕනෑකමින් බලා සිටියේ අහම්බෙන් හෝ යාන්තමට වත්, අපේක්ෂිත දිවයින දැකිය හැකි වේ ය යන්න සිත්හි දරා ගෙන ය. අපි මාස හතරක් පුරා ම එක වරායකටවත් ළඟා නොවී මහා සාගරයේ යාත්‍රා කළෙමු.

මෙසේ අප මෙන් මහ සාගරය මධ්‍යයේ ගතකොට වෙහෙසට පත්ව සිටින මගීන්ට විනා වෙන කවරකුටවත් ගොඩබිමක් දැකීමේ ප්‍රබල ආශාවක් තිබිය නො හැකි ය.

ලංකාව ආකර්ෂණීය සුන්දර දිවයිනකි. එක් සෞන්දර්යාත්මක ලේඛකයකු සටහන් කළ පරිදි "සුළඟින් පිවිසෙන්නේ සුමිහිරි සුවඳකි. මෙහි ඇත්තේ ඉතා ම දුර්ලභ වටිනා වෘක්ෂයන්ගෙන් යුත් වනාන්තරයකි. මේ දිවයිනේ අනර්ඝතම මැණික වශයෙන් සලකන්නේ දියමන්තියයි." නෞකාවේ සිටි සියල්ලන්ගෙන් අපි දෙදෙනෙක් පමණක් කිසි ම දිනක මේ දිවයිනේ සංචාරය කර නැත්තෙමු. ඇත්තට ම නම් මේ දිවයින පිළිබඳ කිසි ම දෙයක් නො දන්නේ අප දෙදෙනා පමණ ය. අනෙක් සියලු දෙනාම ලංකාව ගැන පතපොත කියවා තිබේ. එමෙන් ම සාකච්ඡා කර තිබේ; අධ්‍යයනය කර තිබේ; අනෙක් අතට ඔවුන් කල්පනා කළේ ලංකාව පිළිබඳ තමන්ට ඇති දැනුම මෙහි ජීවත් වීමට හොඳට ම ප්‍රමාණවත් බව ය. එහෙයින් ඔවුහු තම තමන්ගේ සිතිවිලි මුදා හැරීමට මහත් නො ඉවසිල්ලෙන් බලා සිටියහ.

පසු දිනයේ දී ඉතා ඈතින් නමුත් පියවි ඇසට පෙනෙන තෙක් මානයේ කඳු වැටි පේළියක් පෙනිණි. නිල්වන් මුහුදු ජලයේ වර්ණය ක්‍රමයෙන් සිඳී, වඩ වඩාත් හරිත වර්ණයටත් අඳුරු පැහැයටත් මාරු වෙමින් පැවතිණි. සූර්යයා පවා හොඳින් බැබළෙමින් නො තිබිණි. මෙතෙක් සූර්යයා කෙරෙහි මා තුළ පැවැති සිතුවිලි ඈත පෙනෙන දිවයින කරා යොමු විය. සිරගතව සිටින පාවෙන මාලිගාවෙන් මිදුණු පසු අපේක්ෂිත නිදහස රස විඳින්නත් සුදුමුදු වැල්ලේ පහස ලබන්නත් අපි සිහින මැව්වෙමු.

## අරුත් පැහැදිලි කිරීම

| | |
|---|---|
| සිප්පිය | යාත්‍රා කඳ (Shell) |
| බරාඳය | නැවක ඉදිරි කොටස/ආලින්දය/ ඉස්තෝප්පුව |
| වික්‍රමාන්විත | ශූර වූ/ බල පරාක්‍රමයෙන් යුතු |

## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. දුරදක්නයෙන් කපිතාන් මහත් ඕනෑකමින් නැරඹුවේ කුමක් ද?
2. මේ නැව දැඩි හිරු රශ්මියට ලක් වී ඇති බව දැක්වෙන කරුණු මොනවා ද?
3. නැවේ සිටි සියලු දෙනාගේ ම බලාපොරොත්තුව වූයේ කුමක් නැරඹීමට ද?
4. ගොඩබිමක් දකින්න ප්‍රබල ආශාවක් ඇති වන්නේ කිනම් අයට ද?
5. කඳු පේළියක් පියවි ඇසට පෙනීමත්, මුහුදු ජලයේ වර්ණය වෙනස් වීමත් සමග ම ඔවුන් සිහින මැව්වේ කුමකට ද?

## ක්‍රියාකාරකම

**හිස් තැනට සුදුසු උක්ත පද වරහන් තුළින් තෝරා ලියන්න.**

**(මම, ප්‍රධාන නැවියා, මගීහු, මම, අපි, ඔහු)**

1. ඔබට පේන්නේ කුමක් දැයි .................. ඇසුවෙමි.
2. .............. මා අත දුරදක්නය තැබීය.
3. .............. තවම ලංකාව නො දුටුවෙමි.
4. ................. ඉවත් ව ගියේ ය.
5. ............... කියා සිටියහ.
6. .................. මාස හතරක් පුරා යාත්‍රා කළෙමු.

## පැවරුම්

1. **ඔබේ පන්තියේ සියලු දෙනාගේ සහභාගිත්වයෙන් දේශාභිමානී ගීත ගායනා වැඩසටහනක් සංවිධානය කරන්න.**
2. **ඔබ මින් පෙර නොගිය අලුත් රටකට නෞකාවකින් ගමන් කරමින් සිටින්නේ යැයි සිතන්න. ඈතින් ක්‍රමයෙන් එම රට ඔබට දිස් වෙයි. ඒ අවස්ථාවේ දී ඔබට ඒ රට පිළිබඳ දැනෙන හැඟීම් විස්තර කරන්න.**
3. **'ශ්‍රී ලංකාව සුන්දර රටකි' මේ පිළිබඳ ඔබේ අදහස් දක්වන්න.**




# 20 පුංචි අපට දැන් තේරෙයි

වේදිකාවක් මත නළුනිළියන් පිරිසක් රංගනයෙන් ඉදිරිපත් කරන්නා වූ කතාවක් නැරඹීම, අපට සතුටු විය හැකි අද්දැකීමකි. නළුනිළියෝ කතාවේ එක් එක් චරිත ලෙස විවිධ ඇඳුම් ඇඳ මුහුණු ඊට ගැළපෙන සේ වර්ණ ගන්වා ගෙන රඟපාති. ඔවුන්ගේ දෙබස් ඇතැම් විට ගායනා ස්වරූපයෙන් ද ඇතැම් විට කතා කරන ආකාරයෙන් ද ඉදිරිපත් කෙරේ. නාට්‍යවල දී වේදිකාව මත විවිධ උපකරණ සහ සැරසිලි යොදා ගෙන කතාවට සම්බන්ධ පරිසරය මවා පෙන්වීම ද දැකිය හැකි ය. සංගීතයෙන් රසවත් වූ කල වේදිකා නාට්‍යය අප ඇස් හමුවේ මවන්නේ සුන්දර ලෝකයකි. මේ පාඩමට ඇතුළත් වන්නේ සෝමලතා සුබසිංහ මහත්මිය නිර්මාණය කළ **පුංචි අපට දැන් තේරෙයි** නාට්‍යයේ පිටපතයි. කුකුළු හාමි සහ මී හාමිලාගේ චරිත ඇසුරෙන් එතුමිය අපට කියා දෙන්නේ මොනවා දැයි බලමු.



(මල් පාත්තිය මෙන් රඟපාන ගායක පිරිස අභිනය සහිතව වේදිකාව ඉදිරියට ගමන් කරමින්)



පුංචි කතාවක් කියන්න
පුංචි අපට සවන් දෙන්න
පුංචි පුංචි වැරදි ඇතත්
පුංචි අපට සමාවෙන්න.

(ගායක පිරිස පසුපසට ගමන් කරමින්)

පුංචි අපේ කතන්දරේ
කුකුළු හාමි කෙනෙක් වෙතයි
මී හාමිලා හතර දෙනයි
වත්තේ මල් ගස් මෙ අපයි

(කුකුළු හාමි එළියට එයි. මී හාමිලා හතර දෙනා දිව එති. ගායක පිරිස මල් පාත්තිය මෙන් සිට ගනිති.)

කුකුළු හාමිගේ
ගෙදර කොතන දෝ?
කුකුළු හාමිගේ
ගෙදර මෙතැන වේ
වෙලාව කියනා
මූණ කොතැන දෝ?



වෙලාව කියනා
මූණ මෙතැන වේ.
මල් පාත්තිය කොතැන තිබුණි?
මල් පාත්තිය මෙතැන තිබුණි
කතන්දරේ කොහොම වුණේ?
කතන්දරේ මෙහෙම වුණේ.



(කුකුළු හාමි වේදිකාව පසුපසින් ඉදිරියට එයි. තම රාජකාරි කටයුතු ගෙදර දොරේ කටයුතු කෙරෙහි යුහුසුලු වන බව අභිරූපණය කරයි)

ඈත එපිට ගම්මානෙක
උදෙන් නැගිට
බස බස ගා තටු විහිදා
කුක්කු කූ කුක් කියලා
ඉර පායන ආරංචිය
නො වරදවා ගමට කියන
නියම වෙලාවට හඬලන කුකුළෙක් හිටියා.



ඉර පායන ආරංචිය
මුදුනට එන ආරංචිය
ඉර බැස යන ආරංචිය
මුළු ගමට ම කියා සිටින
රාජකාරි භාරකාර
කුකුළු හාමි හරි දස්සයි.

කම්මැළිකම අහලත් නැති
වැඩට පළට හොඳට කැමති
සැම කෙනෙකුට හොඳ හිත ඇති
කුකුළු හාමි



තමන්ට ඇති රාජකාරි
ඉටු කරන්නේ හොඳ සතුටින්.

(මී හාමිලා හතර දෙනා එහෙ මෙහෙ දුවති.)

මී හාමිලා හතර දෙනයි
ඉන්ඩ තැනක් උන්ට නැතෙයි
කන්ඩ දෙයක් උන්ට නැතෙයි
බොන්ඩ දෙයක් උන්ට නැතෙයි.



**1 වැනි මීයා** : කිසිම දෙයක් ලැබුණේ නෑ
කුස්සි ගානෙ ඇවිද්ද මං
දැන් ඉස්සර වගේ ගෙවල
වැඩිපුර කෑමත් නැණේ.



**2 වැනි මීයා** : මටත් නැනේ
මොකුත් ලැබුණේ
ගහක කොළක
පලතුරු නෑ
දලු කොළ නෑ
මිනිස්සු සූරාගෙන කාලා.



**3 වැනි මීයා** : මිදුලක විසිකරපු දෙයක්
කසළ ගොඩක
දාපු දෙයක්
අපි වාගේ අයට කන්න
නෑ දැන් ඉතුරුවක් වෙන්නේ.

**සියල්ලෝ ම** : හෝ හෝ ගාලා වැස්සක්
අඬු පුප්පා එන ඉස්සෙක්
දැන් දැන් මේ ළඟ එනවා
ගෙයක් සොයන්නට වෙනවා.



**4 වැනි මීයා** : ගෙයක් හදා ගත්තත් දැන්
ඇඳ ඇතිරිලි
කොට්ට මෙට්ට
හදා ගන්න ලේසි නැනෙ
ඉස්සර වාගේ නෙව දැන්
මිනිස්සු හරි පිරිමැස්මයි
කඩමල්ලක් කඩදහියක්
ගෙදර දොරක
අපතෙ නො යයි.
දැකල නැද්ද පුංචි පිරිමි ගැහැනු ළමයි?
පාර තොටක කඩදහියක්
ඉතුරු නො කර එකතු කරත්!

**1 වැනි මීයා** : සංස්ථාවක් කියලා තැනක
ලියන, කියන, අඳින, ඔතන
කඩදහි හදලා දෙනවලු
අහක දාන කඩදාසිත්
එතනට මිලයට ගනීලු.

**2 වැනි මීයා** : ඉතිං මොකද දැං කරන්නේ?

**1 වැනි මීයා** : අහල නැද්ද එහා ගමේ
කුකුළු හාමිගෙ විස්තර



අසරණ අපි වගේ අයට
උදවු දෙන්න හරි කැමතිලු.

**සියල්ලෝ ම :**

එහෙනං අපි එහාට යමු
ගිහිං කුකුළු හාමි සොයමු
යමක් කමක් කරලා දීලා
ඉන්ට කන්ට
සොයා ගනිමු.

(පිරිස ගායනා කරති.
මීයෝ අභිරූපණය කරති.)

නියර දිගේ
දුවගෙන ගොස්
ඒ දණ්ඩෙන්
එගොඩ වෙලා
කඳු නැගලා කඩුලු පැනලා
මී හාමිලා හතර දෙනා
කුකුළු හාමි සොයා යතෙයි.

**2 වැනි මීයා :**

අන්න අතන පේන
ගෙදර වෙන්ටැ
කුකුළු හාමි ඉන්නේ.



(සියල්ලෝ ම කුකුළු හාමිගේ
ගේ දෙස එබී බලා)

දොර නම් වසා ඇත
ගෙයින් පිට ගොස් වත් ද?

1 වැනි මීයා : මිදුලෙ තියෙන මල් පාත්තියේ
හරි ලස්සන මල් පිපිලා
ඒ අය හරි සිරියාවයි
තොරතුරු දැන ගත හැකි වෙයි.

(මීයෝ මල් පාත්තිය වෙතට ගොස්)

ලස්සන මල් කුමරුනේ
ලස්සන මල් කුමරියනේ
උදවු සොයා අපි එන්නේ
කුකුළු හාමි
කොයි ඉන්නේ?



මල් පාත්තිය : එන්න, එන්න
මෙහේ එන්න
කුකුළු හාමි
මෙහෙයි ඉන්නේ.

මීයෝ : අපි ආවේ උදවු ගන්න
ඉන්න කන්න
සොයා ගන්න
කුකුළු හාමි
හරි හොඳයිලු
උදවු දෙන්න හරි කැමතිලු.

මල් පාත්තිය : අපොයි කුකුළු හාමි අගෙයි
උදවු දෙන්න කැමති තමයි
දඟ නොකරන හොඳ ළමයින්
බලා ගනියි හොඳ සතුටින්.

| | | |
|---|---|---|
| **එක් මලක්** | : | ගෙයි ඉන්නවා කුකුළු හාමි<br>ගොහින් කතා කර බලන්න. |
| **මීයෝ සියල්ලෝ ම** | : | කිට්ටු කරලා දොර ළඟටා<br>තට්ටු කරලා බැලූ කලටා<br>දැන ගත හැකි කුකුළු හාමි<br>ඉන්නවා ද නැද්ද කියලා. |
| | | (එකිනෙකා පසුබසිමින්) |
| **1 වැනි මීයා** | : | කවුදැයි කවුදැයි<br>ඉස්සර වෙන්නේ?<br>ඉස්සර ගොස් දොර<br>තට්ටු කරන්නේ? |
| **4 වැනි මීයා** | : | මං නං නෑ ඕං<br>ඕව කරන්නේ. |
| **1 වැනි මීයා** | : | වෙන නුවණක් ගැන<br>සිතා බලන්නේ. |
| | | (කුකුළු හාමි එළියට එයි) |
| **මලක්** | : | එච්චර කරදර මොකටද?<br>කුකුළු හාමි අර එන්නේ<br>ගොහින් කතා කර බලන්න. |
| | | (කුකුළු හාමි වට පිට බලයි.) |



**මීයෝ සියල්ලෝ ම :** ආයුබෝවන් කුකුළ හාමි!

**කුකුළ හාමි :** ආයුබෝවන් පොඩි දරුවෙනි,
ඉතිං මොකද මේ පැත්තේ
ඇයි ද කතාවක් නැත්තේ?

**මීයෝ :** කුකුළ හාමි මේ අහන්න
නැතෙයි අපට
කන්න බොන්න
නැතෙයි අපට නිදා ගන්න
අනුකම්පාවක් කරන්න
අපට කන්න
ඉන්න දෙන්න
කුකුළ හාමි කියන වැඩක්
අපගෙ ඇහැට
පෙනෙන වැඩක්
කර දී අප උදවු වෙන්න
අනුකම්පාවක් කරන්න.
අපට කන්න ඉන්න දෙන්න.



**කුකුළ හාමි :** හුරුබුහුටියි මේ පැටවුන්
අහිංසකයෝ වගේ පෙනෙයි
මගේ පාළුවටත් එක්කල
ඉඳුම් හිටුම් දීම හොඳයි.
සැමදා ඉස්කෝලෙ යන්ට
පොතපත පාඩම් කරන්න
ලියනු කියනු ඉගෙන ගන්ට
හොඳ කීකරුවට හිඳින්ට
කැමති ළමයි ඉන්නව නම්



කැමතියි මම ඉන්ට දෙන්න
කැමතියි මම කන්ට දෙන්න.

පිරිසඃ අසරණ පැටවුන්ට ඉතින්
නැති හන්දා යන්ට තැනක්
නැති හින්දා කන්ට දෙයක්
කුකුළු හාමි දුක හිතිලා
ඉඳුම් හිටුම් දුන්නා.



(පිරිස ගායනා කරන විට නළුවෝ නටති, අභිරූපණය කරති.)



අතුරු මිතුරු දඹදිවතුරු
රාජ කපුරු සෙට්ටියා//
හතර දෙනා දඟකාරයි
කතුර වගේ කට සූරයි
නිතර වගේ සෙල්ලමෙන් ම
දවස ගත කළා.



උදෙන් ම පාසැලට ගියේ
සවසට සෙල්ලම් පිටියේ
පොතපත මුල්ලක වූයේ
පොරොන්දු අමතක ව ගියේ
කුකුළු හාමි කියපු වැඩක්
උන්ගේ ඇහැට
පෙනුණු වැඩක්
කරලා උන් උදවු වුණේ
නෑ පොරොන්දු
අමතක නේ
හතර දෙනා දඟකාරයි
බෝලෙ පිත්ත අතේ තමයි

නිතර වගේ සෙල්ලමෙන් ම
දවස ගත කළේ
ගෙදර දොරේ
වැඩ ඔක්කොම
කුකුළ හාමි අතේ තමයි
හතර දෙනා නම් කිසි විට
උදවු කළේ නෑ.
(කුකුළ හාමි අභිරූපණය කරයි.)



කුකුළ හාමි
උදෙන් නැගිට
මුළු ගමට ම
වෙලාව දී
ඩාං ඩාං ඩාං ඩාං ඩාං ඩාං ඩාං ඩා.
ගෙදර දොරේ
කටයුතු ගැන
කම්මැළි නෑ
කඩිසර වෙයි//
කෑම පිහලා කුකුළ හාමි
ගේ අතු ගා කුකුළ හාමි
ඉදල අරන් කුකුළ හාමි
මිදුලට බැස්සේ දවසක්//

**මල් පාත්තිය :** කුකුළ හාමි
කොක්! කොක්! කොක්!
පිදුරු මඩුව
අතුගාන්නේ.



කුකුළු හාමි : මොකක් බොලේ
චක්! චක්! චක්!
බිම වැටිලා තියෙන්නේ
වී කරලක්!
හොඳට පැහුණු
රන්වන් වූ වී
කරලක්!
වී ටික කොටලා ගත්තොත්
පිටි කොටලා කැවුම් සදා
පුංචි උන්ට
කන්න ඇහැකි.
(මීයන්ට අඬ ගසා)
මෙහෙ වරෙල්ලා දරුවනේ
මේ වී කරලත් ගෙනේ
මෝලට ගොස් කඩිනමේ
කොටා ගෙනෙල්ලා.





1 වැනි මීයා : ගෙදර වැඩක් අල්ලල නෑ
ගණන් හදා ගෙන
නොගියොත්
දෙවි පිහිටයි මට!

2 වැනි මීයා : ලංකාවේ සිතියමකුයි
ගංගාවල් වරායවල්
ඇඳ ගෙන යන්නට
ඇත මට.

3 වැනි මීයා : මගේ ඔළුව
කැක්කුම වගේ
බඩත් ටිකක් රිදෙනවා!

| | | |
|---|---|---|
| **4 වැනි මීයා** | : | කෝ මාගේ වයලීනය<br>පුරුදු වෙලා<br>නොගියෝතින්........! |
| **කුකුළු හාමි** | : | හා හා මට තේරෙනවා<br>කාටත් හරියට වැඩ බව<br>හොඳයි කාට වත් බැරි නම්<br>මම් ම කොටා ගෙන එන්නං. |
| **පිරිස** | : | කම්මැළි නෑ<br>කුකුළු හාමි<br>වී කරලත් මල්ලක දා<br>වී කොටලා එන්ට යතෙයි<br>මී පැටවුන් දඟකාරයි<br>හිත සැම විට සෙල්ලමටයි<br>කුකුළු හාමි ගෙදරින් පිට<br>ගියොත් සෙල්ලමේ ම තමයි. |
| **මී හාමිලා** | : | කුකුළු හාමි එන්ට<br>කලියෙන් අපි<br>බෝල අතක්වත්<br>සෙල්ලම් කරමු ද?<br>හරි හරි<br>මෙන්න බෝලෙ<br>මෙන්න පිත්ත<br>මමයි බෝල්<br>මමයි බැටිං<br>හරි හරි. |



පිරිස : හතර දෙනා දඟකාරයි
කතුර වගේ කට සූරයි
පාඩම් වැඩ කොහොම වුණත්
සෙල්ලම දැන් හරි සාරයි.



මී හාමිලා : කුකුළු හාමි අර එන්නේ
වී ටික කොටලා එන්නේ
හංගපල්ලා බෝලෙ පිත්ත
හංගපල්ලා බෝලෙ පිත්ත.



1 වැනි මීයා : පාඩම් පොත අරගන්නේ.

2 වැනි මීයා : සිතියම් පොත මම ගන්නේ.

3 වැනි මීයා : බඩ අල්ලං මම ඉන්නේ.



4 වැනි මීයා : වයලීනය කොහෙද අනේ?

පිරිස : දඟ කළ බව පුංචි එවුන්
ඇත තියා දුටුව නමුත්
කුකුළු හාමි කරුණාවයි
බැනුම් බසක්
ඔහේ නැතෙයි.





කුකුල් හාමි මෙන්න හාල් මං ගෙනාව
කැවුම් කන්න
ආස කෙනෙක්
එන්න ඇවිත්
පිටි කොටන්න.

මී හාමිලා : 1. මං කවි පාඩම් කරනවා!
2. සිතියම් ඇඳ ඉවර නැතේ!
මට තව වැඩ ගොඩක් ඇතේ!

3. මගේ ඔළුව කැක්කුම වගේ!
බඩත් තවම රිදෙනවා!
4. සා.... රි.... ගා.... ම!



කුකුළු හාමි : ඔව්! ඔව්! මට තේරෙනවා
කාටත් හරියට වැඩ බව
ඉතින් කාටවත් බැරි නං
ඒකත් මං කොටන්නංකෝ.

පිරිස : ඩෝං ඩෝං
පිටි කොටපං//
සුරුං සුරුං පිටි හලපං//
පිටි කොටලා පිටි හලලා
කුකුළු හාමි හඬලනවා//



කුකුළු හාමි : පිටි කොටලා පිටි හලලා
සුදට සුදේ බලපල්ලා
කැවුම් කන්න ආස කෙනෙක්
කැවුම් උයා කාපල්ලා.

1 වැනි මීයා : අපේ අප්පෝ තෙල් තාච්චිය
පෙරළුණොතිං මම ඉවරයි!

2 වැනි මීයා : ගින්දර අල්ලන්න එපා
අපේ අම්මා මට කිව්වා!

| | | |
|---|---|---|
| 3 වැනි මීයා | : | කැවුම් කන්න පණු ගායට<br>පුංචි උන්ට හොඳ නැහැල්ලු! |
| 4 වැනි මීයා | : | මම නැහැ පැණි රහට කැමති! |
| කුකුළු හාමි | : | හොඳයි කාට වත් බැරි නං<br>කැවුම් ටිකත් උයන්නංකෝ. |
| පිරිස | : | පිටිත් කොටා ගෙන<br>පැණිත් සොයා ගෙන<br>තෙලුත් සොයා ගෙන<br>දරත් සොයා ගෙන<br>ළිප හදලා තාච්චියේ<br>කැවුම් ඉදෙන්නේ<br>චෝස් චෝස් චිරි චිරි චිරි<br>කැවුම් ඉදෙන්නේ<br>තරිකිට කැවුම් ඉදෙන්නේ. |
| 1 වැනි මීයා | : | හරි සුවඳයි! |
| 2 වැනි මීයා | : | අම්මප ඔව්! |
| 3 වැනි මීයා | : | පිඟන් ගෙනෙල්ලා<br>පිඟන් ගෙනෙල්ලා<br>කැවුම් කන්ට අපි<br>යන්ට වරෙල්ලා// |
| සියල්ලෝ ම | : | තක්කිට තරිකිට තරිකිට<br>කැවුම් ඉදී ඇතෙයි.<br>පිඟාන පිරිලා<br>කැවුමෙන් මේසය උඩ වෙයි. |



අම්මගෙ කොණ්ඩය වගේ ම
ඒ කොණ්ඩය වෙයි.
අපටත් කැවුමක් කන්නට
සිකුරට ලැබෙතෙයි.



**පිරිස** : ඉවසුම් නෑ මී පැටවුන්ට
සුවඳ කැවුම් රස කර කන්ට
කුකුළු හාමි එය දැන හොඳට
සිටී ඒ වග නො දැනුණ ලෙසට.

**1 වැනි මීයා** : කුකුළු හාමි කරුණාවයි
අප ගැන අනුකම්පාවයි
කැවුම් උයා මහන්සියි ද?
කැවුම් හොඳට පදම් වී ද?

**කුකුළු හාමි** : අපොයි ඒක සුළු වැඩක්නෙ
කැවුම් පිහුම් සෙල්ලමක්නෙ
මේ ළමයින් හට නෑනේ
නිවාඩුවක් සෙල්ලමකට.

**මීයෝ** : ඒක හැබැයි කුකුළු හාමි
පොතේ පතේ වැඩ
බොහොමයි
ගුරුතුමා ද බොහෝම වසයි
ගෙදර වැඩත් නිතර තිබෙයි.

**කුකුළු හාමි** : ඔව් ඔව් මම නො දන්නවද?
ඔව් ඔව් මම නො දුටුවාද?
හොඳ කීකරු මේ ළමයින්

පාඩම් කළ හැටිය හොඳින්
පොතේ පතේ වැඩ කරලා
සංගීතය හුරු වීලා
ඉස්කෝලෙට පේ වීලා
මහන්සි ඇති නේද ළමයි?

**මීයෝ** : අපොයි අපට හරියට වැඩ
ගෙදර දී කර ගෙන යන්නට
ගුරුතුමාට පෙන්නන්නට
ඉස්කෝලෙට ගියා ම හෙට.

**කුකුළු හාමි** : මේ කැවුම් හරි රසයි...

**මීයෝ** : ඔව්!

**කුකුළු හාමි** : ඒ වගේ ම හරි හැඩයි...

**මීයෝ** : ඔව්!! ඔව්!!

**කුකුළු හාමි** : හරි ම හරි සුවඳයි...

**මීයෝ** : ඔව්!!! ඔව්!!! ඔව්!!!

**කුකුළු හාමි** : කටටත් කෙළ උනනවා...

**මීයෝ** : ඔව්!!! ඔව්!!! ඔව්!!! ඔව්!!!

**කුකුළු හාමි** : කවුදැයි කවුදැයි කරල ගෙනාවේ?

**මීයෝ** : කුකුළු හාමි නොවැ කරල ගෙනාවේ.
රන්වන් ඒ වී කරල ගෙනාවේ.

**කුකුළු හාමි** : කවුදැයි වී ටික කොටලා ගෙනාවේ?

**මීයෝ** : (ඉතා උද්‍යෝගිමත්ව)
කුකුළු හාමි නොවැ
කොටලා ගෙනාවේ.
මෝලට ගොස් වී
කොටලා ගෙනාවේ.

**කුකුළු හාමි** : කවුදැයි ඉන් පිටි කොටලා ගත්තේ?

**මීයෝ** : කුකුළු හාමි නොවැ
කොටලා ගත්තේ.
කොටාපු පිටි ටික හලලා ගත්තේ.

**කුකුළු හාමි** : කවුද කැවුම් ටික උයලා ගත්තේ?

(පසු බසිමින්)

**මීයෝ** : කුකුළු හාමි මයි උයලා ගත්තේ.

**කුකුළු හාමි** : කවුද කැවුම් ටික කන්නට ඕනෑ.

**මීයෝ** : (පරාජිත ව) කුකුළු හාමි මයි කන්නට ඕනෑ.

**පිරිස** : වී කොටන්න බෑ.
පිටි කොටන්න බෑ.

(මීයෝ ආපසු හැරී යති.)

කිසිම වැඩක් බෑ.
ඉතින් කැවුම් කන්ට බෑ.

**කුකුළු හාමි** : හා හා දරුවනේ
යන්ට එපා දරුවනේ
අදට කැවුම් කාපල්ලා
නමුත් මේක අහපල්ලා
මේ ලෝකේ කවුරු නමුත්
වැඩපළ නො කරනවා නම්
නිකම් ඔහේ පුටු පිට ඉඳ
කන්ට හොඳත් නෑ.

**සියල්ලෝ ම** : පුංචි අපට දැන් තේරෙයි//
පුංචි පුංචි ඔළු එකතුව
පුංචි පුංචි අත් එකතුව
පුංචි අපට ලොකු දේවල්
කරන්ට බැරි නෑ//
මේ ලෝකේ කවුරු නමුත්
වැඩපළ නො කරනවා නම්
නිකම් ඔහේ පුටු පිට ඉඳ
කන්ට හොඳත් නෑ.
පුංචි අපට දැන් තේරෙයි!
පුංචි අපට දැන් තේරෙයි!!





## අවබෝධය

**පාඩම කියවා උත්තර සපයන්න.**

1. කුකුළු හාමිගේ රාජකාරි කටයුතු හා ගෙදර දොරේ කටයුතු මොනවා ද?
2. මී හාමිලා හතර දෙනා වඩා කැමති කුමක් කිරීමට ද?
3. පුංචි ළමයින් අතින් කෙරෙන හොඳ ක්‍රියාවක් මෙහි දැක්වේ. එය කුමක් ද?
4. මී පැටවුන් කුකුළු හාමිගෙන් ඉල්ලුවේ මොනවා ද?
5. උයාගත් කැවුම් 'කුකුළු හාමි මයි කන්නට ඕනෑ' යයි තීරණය කළේ කුමන හේතු නිසා ද?
6. කුකුළු හාමි, මී පැටවුන්ට දුන් අවවාද මොනවා ද?

## පැවරුම්

1. **අවම වශයෙන් සිසුන් අට දෙනකුවත් සිටින සේ කණ්ඩායම් වශයෙන් චරිත බෙදන්න. තනිව පුහුණු වී නාට්‍යය ඉදිරිපත් කරන්න.**

2. **කුකුළු හාමිගේ චරිතයෙන් ඔබේ ජීවිතයට එක් කර ගත හැකි යහපත් ගුණාංග පෙළ ගස්වන්න.**

# ගුරු උපදෙස්

ළමා සිතුවිලි බෝ මැවෙන්නේ
ලියලමින් නෙක අත වැඩෙන්නේ
භූ ලොවේ සීමා නො වන්නේ
නාග භවනය තෙක් දුවන්නේ
නාග භවනෙන් පිටත් වන්නේ
ගුවන් ගැබ දෙස නැගී යන්නේ
දෙව් ලොවින් කෙළවර නොවන්නේ
චක්‍රවාටය වට කරන්නේ

මහාචාර්ය එදිරිවීර සරච්චන්ද්‍ර
**කදා වළලු**

ළමා මනස සීමා මායිම් නොතකා විශ්වය පුරා විහිදෙන බවත් විශ්වයේ සකල විධ තතු දැන ගැනීමේ කුතුහලයෙන් පිරුණක් බවත් ඉහත උපුටනයෙන් කියැවේ. එබඳු මනසක් පෝෂණය කිරීම උදෙසා ගුරුවරුන් වන ඔබට පැවරී ඇත්තේ ඉතා භාරධූර වගකීමකි.

නව විෂය නිර්දේශයට අනුකූල මේ 5 ශ්‍රේණිය සිංහල කියවීම් පොත දරුවන්ගේ සිතුවිලි පුළුල් කිරීමේ අරමුණින් සම්පාදිත ය. අධ්‍යාපනයේ ජාතික පොදු අරමුණු ආවරණය කෙරෙන උද්ධෘත තෝරා ගැනීම පිළිබඳව මෙහි දී විශේෂ අවධානය යොමු කෙරිණි.

2016 වර්ෂයේ සිට ක්‍රියාත්මක කෙරෙන නව විෂය නිර්දේශයට අනුව සම්පාදිත 1, 2, 3, 4 ශ්‍රේණි නව පෙළපොත් මේ වන විට පාසල් පද්ධතියේ භාවිතයට එක්වී ඇති අතර මේ 5 ශ්‍රේණිය කියවීම් පොත සමග ඒ විෂයමාලා චක්‍රය සම්පූර්ණ වෙයි.

මව්බස ගුරු මාර්ගෝපදේශයේ දැක්වෙන ක්‍රියාකාරකම් හා සමගාමීව මේ පෙළපොත පන්ති කාමර ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සඳහා භාවිත කිරීම යෝග්‍ය වේ. පෙළපොතේ පාඩම් සඳහා කෙටි හැඳින්වීමක් ද, දුරවබෝධ වචන සඳහා අරුත් පැහැදිලි කිරීමක් ද එක් කර ඇත්තේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේ පහසුව පිණිස විනා ඇගයීම හා තක්සේරුව පිණිස නොවේ. රස විඳිමු හා සිතමු යන හිසින් දක්වා ඇති උද්ධෘත, හුදෙක් දරුවන්ගේ සාහිත්‍යමය රස වින්දනය හා චින්තනය දියුණු කිරීමට විනා තක්සේරුකරණයට යොදා ගැනීම සුදුසු නොවන බව තව දුරටත් පෙන්වා දෙමු.

ගුරුවරයාට ස්වකීය කාර්යය ඵලදායක කර ගැනීමට පහසුවක් ලෙස 5 ශ්‍රේණිය සිංහල කියවීම් පොතේ පාඩම් පිළිබඳ විස්තරාත්මක විග්‍රහයක් මෙහි දක්වා ඇත.

| | ක්ෂේත්‍රය | අන්තර්ගතය | නිපුණතාව | ඉගෙනුම් පල |
|---|---|---|---|---|
| 1. | විද්‍යාත්මක තොරතුරු ඇතුළත් කතන්දරයක් | මහපටැඟිල්ලක අරුමය<br>ඩබ්ලිව්.ටී. එම්. මහින්දරත්න | $R_1$ කියවීමේ යාන්ත්‍රණය අනුගමනය කරමින් කියවයි. | ශබ්ද නගා කියවීමේ පරිචය ප්‍රදර්ශනය කරයි.<br>නිශ්ශබ්දව කියවීමේ කුසලතාව ප්‍රදර්ශනය කරයි.<br><br>විරාම ලක්ෂණ පිළිබඳ සැලකිලිමත් වෙමින් වේගයෙන් කියවයි. |
| 2. | චරිත කතාවක් | පාර කියන අත්තම්මා | $R_2$ කියවීමේ කුසලතා සංවර්ධනය සඳහා කියවයි. | සරල ඡේදයකට අවබෝධයෙන් යුතුව සවන් දී අසන ප්‍රශ්නවලට නිවැරදිව පිළිතුරු සපයයි.<br><br>සරල ඡේදයකට අවබෝධයෙන් යුතුව සවන් දී අන්තර්ගතයෙන් කියැවෙන අදහස ගැන ප්‍රකාශ කරයි.<br><br>සරල ඡේදයක් කියවා එහි සුවිශේෂ කරුණු උපුටා දක්වයි. |
| 3. | ළමා ගීයක් | සමන් වැලේ මල්<br>අරීසෙන් අහුබුදු | $R_3$ කැමැත්තෙන් හා රසවිඳිමින් කියවයි. | ළමා කවි, ගීතවලට සවන් දී එයින් කියැවෙන අදහස පහදයි. |
| 4. | විද්‍යා ප්‍රබන්ධ | කුරුලු මිතුරා<br>ආතර් සී. ක්ලාක්<br>පරිවර්තනය:<br>එස්. එම්. බන්දුසීල | $R_3$ කැමැත්තෙන් හා රසවිඳිමින් කියවයි. | විද්‍යා ප්‍රබන්ධ කියවා එහි සිත්ගත් අවස්ථාවක් චිත්‍රයට නගයි.<br><br>අන්තර්ගතය පිළිබඳ සංවාදයේ යෙදෙයි. |
| 5. | සාම්ප්‍රදායික යෙදුම් | බසෙහි රස<br>ජේ. බී. දිසානායක | $R_5$ වාං මාලාව සංවර්ධනය සඳහා කියවයි. | යුගල පද, ප්‍රස්තාව පිරුළු, රූඪී, ඉඟි වැකි සහ ආප්තෝපදේශ නිවැරදි අර්ථ දැක්වීම් සඳහා භාවිත කරයි. |
| 6. | ළමා කවි | මල් සිරි සිරි සිසිරි සිසිරි<br>ජයරත්න සමරසේකර | $R_3$ කැමැත්තෙන් හා රස විඳිමින් කියවයි. | ළමා කවි ගීත කියවා අසන ප්‍රශ්නවලට අවබෝධයෙන් යුතු ව නිවැරදි පිළිතුරු ලබා දෙයි. |
| 7. | ස්වභාව ධර්මය අගය කරන ලිපියක්<br><br>(රතු ඉන්දීය නායක සියැටල්ගේ කතාව ඇසුරෙන්) | සියැටල්ට සවන් දෙමු | $R_6$ සන්නිවේදනය සඳහා කියවයි. | සුහදශීලීව හා සංයමයෙන් යුතු ව අදහස් ප්‍රකාශ කරයි. |

| | | | | |
|---|---|---|---|---|
| 8. | කෙටිකතාව | ඉතුරු සතේට<br>සෝමරත්න බාලසූරිය | $R_3$ කැමැත්තෙන් හා රස විඳිමින් කියවයි. | ළමා කතන්දර කියවා අසන ප්‍රශ්නවලට තර්කානුකූලව අදහස් ඉදිරිපත් කරයි.<br>චරිතයකට ආරෝපණය වී අවබෝධයෙන් යුතුව කියවයි. |
| 9. | ලේඛන ශෛලින්හි විවිධත්වය හඳුන්වාදෙන නිර්මාණාත්මක ලේඛනයක් | ලොව සුරකින මහ වෙදැදුරු කුමාරතුංග මුනිදාස | $R_7$ භාෂාව හැසිරවීමේ කුසලතා සඳහා කියවයි.<br>$R_8$ ඉගෙනුම් සංවර්ධනය සඳහා කියවයි. | මාතෘකාවකට අදාළව කරුණු රැස් කරයි.<br>කියවීමේ පුරුදු වර්ධනය සඳහා පුස්තකාල භාවිතයට හුරුව ලබයි. |
| 10. | ළමා කවි | සමගිය<br>සුනිල් ජයවීර | $R_9$ අවබෝධ කරගත් දේ භාවිතයෙන් නිර්මාණශීලීව සහ අවස්ථාවෝචිතව ලියයි. | ළමා කවි, ළමා ගීත රස විඳ ඒ පිළිබඳව කතා කරයි.<br>නිර්මාණශීලීව ළමා කවි ගොඩනගයි.<br>ළමා කවි ගීත රස විඳ නිර්මාණශීලීව ඉදිරිපත් කිරීමේ කුසලතාව පෙන්වයි. |
| 11. | චාරිකා සහ තොරතුරු ගවේෂණය<br>(මාර්ටින් වික්‍රමසිංහ කෞතුකාගාරය ඇසුරෙන්) | කොග්ගල චාරිකාව | $R_8$ ඉගෙනුම් සංවර්ධනය සඳහා කියවයි.<br>$R_9$ අවබෝධ කරගත් දේ භාවිතයෙන් නිර්මාණශීලීව සහ අවස්ථාවෝචිතව කියවයි. | සංයමයෙන් යුතුව තම අදහස් පවසයි.<br>තම අද්දැකීම් නිරවුල්ව සහ නිවැරදිව පවසයි.<br>තොරතුරු කියවා අන්තර්ගත සුවිශේෂ කරුණු උපුටා දක්වයි. |
| 12. | ජන කවි | සවන් නමා රසකර කවි අසන්නට | $R_7$ භාෂාව හැසිරවීමේ කුසලතා සංවර්ධනය සඳහා කියවයි. | ජනකවි ගායනා කරමින් ඒ පිළිබඳ ව විමසයි. |
| 13. | විදෙස් ළමා කතාන්දරය | කැලෑවේ අන්තර්ජාලය<br>රාමේන්ද්‍ර කුමාර්<br>පරිවර්තනය :-<br>බොබී ජී. බොතේජු | $R_5$ වාං මාලා සංවර්ධනය සඳහා කියවයි. | වාං මාලා පෝෂණය සඳහා වචන එක් රැස් කර භාවිත කරයි. |

| | | | | |
|---|---|---|---|---|
| 14. | විද්‍යාත්මක සොයා ගැනීම් පිළිබඳ ඓතිහාසික කතාන්දරයක් | අසිරිමත් ලෝකය (ඇනටෝලි තොමිලින් පරිවර්තනය:- දැදිගම වී. රුද්රිගු | $R_8$ ඉගෙනුම් සංවර්ධනය සඳහා කියවයි. | කියවීමේ පුරුදු වර්ධනය කර ගැනීම සඳහා පුස්තකාල භාවිතයට හුරුව ලබයි. |
| 15. | ගීතයක් | වෙසක් කැකුළු මර්සලින් ජයකොඩි පියතුමා | $R_9$ අවබෝධ කරගත් දේ භාවිතයෙන් නිර්මාණශීලීව සහ අවස්ථාවෝචිත ව කියවයි. | ළමා කවි/ගීත රස විඳ ඒ පිළිබඳ කතා කරයි.<br><br>ළමා කවි/ගීත කතාන්දර රස විඳ නිර්මාණශීලීව ඉදිරිපත් කිරීමේ කුසලතාව පෙන්වයි. |
| 16. | අන්තර්කරණය හා බැඳුණු ලිපියක් | ලුයී බිරේල් මාග්‍රට් ඩේවිඩ්සන් පරිවර්තනය:- එඩ්නා මල්කාන්ති | $R_9$ අවබෝධ කරගත් දේ භාවිතයෙන් නිර්මාණශීලීව සහ අවස්ථාවෝචිතව කියවයි. | තොරතුරු කියවා අන්තර්ගත සුවිශේෂ කරුණු උපුටා දක්වයි. |
| 17. | සිංහල සම්භාව්‍ය සාහිත්‍යයෙන් උපුටා ගත් කතාවක් | දිරියෙන් දිවිය දිනූ ජීවක මයුරපාද පරිවේණාධිපති බුද්ධපුත්‍ර හිමි | $R_5$ වාං මාලා සංවර්ධනය සඳහා කියවයි. | වාං මාලා පෝෂණය සඳහා වචන එක්රැස් කර නිවැරදිව භාවිත කරයි. |
| 18. | ළමා කවි | නුවණින් ම තෝරමු නුවන් තොටවත්ත | $R_9$ අවබෝධ කරගත් දේ භාවිතයෙන් නිර්මාණශීලීව සහ අවස්ථාවෝචිත ව කියවයි. | ළමා කවි/ගීත රස විඳ ඒ පිළිබඳව කතා කරයි.<br>නිර්මාණශීලීව ළමා කවි ගොඩනගයි. |
| 19. | ලංකාව පිළිබඳ විදේශිකයකු ලියූ විස්තරයක් | ලංකාවට සම්ප්‍රාප්ත වීම විලියම් නයිටන් පරිවර්තනය:- මනෝ ප්‍රනාන්දු | $R_{10}$ සම්මත භාෂා ව්‍යවහාර සඳහා කියවයි. (ලිඛිත බසින් ලියැවුණු ඡේද) | උක්තය, කර්මය, ක්‍රියාව නිවැරදිව හඳුනාගෙන විස්තර කරයි. |
| 20. | ළමා නාට්‍ය | පුංචි අපට දැන් තේරෙයි සෝමලතා සුබසිංහ | $R_3$ කැමැත්තෙන් හා රසවිඳිමින් කියවයි. | වේදිකා නාට්‍යයක් නරඹා ඒ ඇසුරෙන් අසන ප්‍රශ්නවලට පිළිතුරු සපයයි. |

**පළමු වන පාඩම** - අපගේ ශරීර අවයවයක් වන මහපටැඟිල්ලේ සුවිශේෂත්වය මැනවින් පැහැදිලි කර දෙයි. මහපටැඟිල්ලෙහි ජීව විද්‍යාත්මක සැකැස්ම ද මෙහි අන්තර්ගත වේ. පාඩමේ මූලික අරමුණ ළමයින්ට නිවැරදිව කියවීමේ හුරුව ලබාගැනීමට ආධාර වීමයි.

**දෙවන පාඩම** - ස්වේච්ඡාවෙන් ඉදිරිපත් වී සමාජ මෙහෙවරක නිරත වන අත්තම්මා කෙනකුගේ චරිතය මේ පාඩමට පාදක වී තිබේ. කිසිදු ප්‍රතිලාභයක් අපේක්ෂා නොකර තමන්ට හැකි පමණින් ලෝකයේ යහපත වෙනුවෙන් සේවය කරන පිරිස අගය කිරීම සහ ළමයින් ද එවැනි මෙහෙවරක් ඉටු කිරීම සඳහා යොමු කිරීම මෙමගින් අපේක්ෂිත ය.

**තුන්වන පාඩම** - සමන්වැලක පිපි මල්වල චමත්කාරය ඇසුරෙන් වඩාත් යහපත් පුද්ගලයකුගේ වටිනාකම පිළිබඳ පැහැදිලි කරන්නකි. ළමා කවි සහ ගීත රසවිඳීමට හා ඒවා නිර්මාණය සඳහා ළමයින්ගේ උනන්දුව වර්ධනය කිරීම මෙහි අරමුණ යි.

**සිවුවන පාඩම** - මෙමගින් විද්‍යා ප්‍රබන්ධ කියවීම කෙරෙහි ළමයින් යොමුකිරීම අපේක්ෂා කරයි. කතා රසය ද සමග විද්‍යාත්මක තොරතුරු නිර්මාණශීලීව ළමයින් වෙත සමීප කරවීමට මෙම පාඩම උපකාරී වේ. සතුන් හා මිනිසුන් අතර පවතින සබඳතාව පිළිබඳ මෙන් ම ඒ පිළිබඳ සංවේදීතාව පෘථුල කිරීම සඳහා මෙම පාඩම ඉවහල් කර ගත හැකි ය.

**පස්වන පාඩම** - භාෂාව වඩාත් රසවත් ලෙස යොදා ගත හැකි ආකාරය පිළිබඳ අවබෝධය ඇති කිරීම මේ පාඩමෙහි අරමුණයි. සිංහල භාෂාව විවිධ අවස්ථාවල දී රසවත්ව විවිධාකාරයෙන් යෙදෙන ආකාරය හඳුනා ගැනීම එහි දී අපේක්ෂා කෙරේ. කතා ව්‍යවහාරය ඇසුරින් සිංහල භාෂාව මනාව හඳුනා ගැනීමට සිසුන් පෙලඹවීමට ද මෙම පාඩම උපයෝගී කර ගත හැකි ය. සාම්ප්‍රදායික යෙදුම් පිළිබඳ අවබෝධය පෘථුල කිරීම ද මෙහි තවත් අරමුණකි.

**සයවන පාඩම** - මෙහි දැක්වෙන 'මල් සිරි සිරි සිසිරි සිසිරි' පද්‍ය පන්තියෙන්, උත්සාහයෙන් වැඩ කිරීමෙන් බොහෝ කාර්යයන් සපල කරගත හැකි බව මනාව අවබෝධ කර දෙයි. ඒ හා සමගාමීව පරිසරයෙහි චමත්කාරය ද කුළුගන්වා ඇත. වාං මාලා පෝෂණයට මෙන් ම රසවින්දනයට ද සිසුන් යොමුකිරීමට මෙම පැදි පෙළ උපයෝගි කර ගත හැකි ය.

**සත්වන පාඩම** - සියැටල් නම් පරිසර හිතකාමී රතු ඉන්දීය නායකයාගේ සුප්‍රසිද්ධ දේශනය ඇසුරෙන් සම්පාදිත මේ පාඩම සොබාදහමේ අපූර්වත්වය පිළිබඳ ළමා සිතෙහි යහපත් ආකල්ප ජනිත කරවයි. පරිසර සංවේදී විශ්වීය පුරවැසියකු නිර්මාණය කිරීම සඳහා මෙම පාඩමෙන් සුවිසල් ආලෝකයක් ලබා ගත හැකි ය.

**අටවන පාඩම** - මෙහි අන්තර්ගත වන්නේ කෙටි කතාවකි. කෙටි කතාව නම් සාහිත්‍ය ප්‍රවර්ගය හඳුන්වාදීම එහි එක් අරමුණකි. අව්‍යාජ ළමා ලෝකයේ සුන්දරත්වය, සහෝදරත්වයේ අපූර්ව බන්ධනය, සහකම්පනය ආදි බොහෝ වටිනාකම් මෙමගින් ඉස්මතු කර දැක්විය හැකි ය.

**නවවන පාඩම** - ලොව සුරකින මහ වෙදදුරු නම් මේ පාඩම ළමයින්ට කුතුහලය ඇසුරෙන් අපූර්ව රසයක් හා දැනුමක් ලබාදෙන්නකි. ලේඛන ශෛලි විවිධත්වය ද මෙමගින් හඳුනාගත හැකි ය. දරුවන් නිර්මාණශීලී ලේඛනයට යොමුකිරීමට මෙම පාඩම මගින් ආදර්ශ සපයා ගත හැකි ය.

**දසවන පාඩම** - අලංකාර පාට පෙට්ටියක් උපයෝගී කොට ගෙන සමගියේ මාහැඟි අගය විදහා පෑමට දැරූ ප්‍රයත්නය මේ පාඩමෙන් විද්‍යමාන වේ. සමගිය මහා බලයක් ලෙස ගොඩනැගෙන අයුරු පැහැදිලි කර දීම මෙන් ම කාව්‍ය රසඥතාව වර්ධනය කිරීමටත් එවන් කාව්‍ය නිර්මාණ පරිශීලනයටත්, නිර්මාණකරණයටත් සිසුන් පෙලඹවීමට මෙම පාඩම මනා පිටුබලයක් සපයනු ඇත.

**එකළොස්වන පාඩම** - පැරණි දේ අගය කිරීම හා රැක ගැනීම සඳහා ආකල්ප වර්ධනය කිරීමේ අරමුණින් රචනා වී ඇති එකළොස්වන පාඩම "කොග්ගල" චාරිකාවකට ළමයින් රැගෙන යයි. ජනකලා කෞතුකාගාරයක අගය සේ ම ළමුන් වෙත හෙළයේ මහා ගත්කරු මාර්ටින් වික්‍රමසිංහ පිළිබඳ අවබෝධයක් ලබා දීම සඳහා මෙම පාඩම ඉවහල් කර ගත හැකි ය.

**දොළොස්වන පාඩම** - මෙම පාඩම ජනකවිවලින් සංගෘහීත වී ඇත. විවිධ ජන කවි ප්‍රභේද ළමයා වෙත සමීප කරමින් අතීත ගැමියාගේ ජීවන රටා හඳුන්වාදීම විෂයෙහි මෙම පාඩම වැදගත් වේ.

**දහතුන්වන පාඩම** - කැලෑවේ අන්තර්ජාලය පාඩමට පාදක වනුයේ පරිවර්තිත කතාන්දරයකි. එහිදී පැරණි හා නූතන සන්නිවේදන තාක්ෂණික ක්‍රමවේදවල ඇති වටිනාකම සත්ව චරිත ඔස්සේ අපූර්වාකාරයෙන් ළමයින් වෙත සමීප කර ඇත. පැරණි දේ රැක ගනිමින් නව තාක්ෂණය වෙත අප පියමැනිය යුතු බව මෙම පාඩමෙන් ප්‍රකට වේ.

**දහහතරවන පාඩම** - අසිරිමත් ලෝකය නම් පාඩම මගින් ප්‍රකාශ වන්නේ ලෝකය පිළිබඳ විවිධ විද්‍යාත්මක අනාවරණ පිළිබඳ සටහන් ය. අවට ලෝකය දෙස විමර්ශනශීලීව හා කුතුහලයෙන් යුක්තව බැලීමෙන් බොහෝ දේ උගත හැකි බව ළමයින්ට අවබෝධ කර ගත හැකි ය. සන්නිවේදන මාධ්‍ය ඇසුරෙන් ලෝකය පිළිබඳ තවත් බොහෝ දෑ පිළිබඳ අවබෝධය පෘථුල කරගැනීමට මෙම පාඩම ආධාර කර ගත හැකිය.

**පහළොස්වන පාඩම** - පරිසරයේ චමත්කාරය මනාව කුළුගන්වා ඇති "වෙසක් කැකුළු" නම් ගීතය ඇතුළත් පාඩමෙන් ළමයින් වෙත රසවින්දනයක් ලබා දෙයි. පරිසරයේ විචිත්‍රතාව ආස්වාදනය කිරීමට ළමුන් පෙලඹවීමට මෙන් ම ගීත රසාස්වාදය හා තාලානුකූල රංගනය උදෙසා ද මෙම පාඩම උපයෝගී කර ගත හැකි ය.

**දහසයවන පාඩම** - අභියෝග ජයගනිමින් ලෝකය දිනූ ලුයී බ්‍රේල්ගේ චරිතය මේ පාඩමට පාදක වේ. විශේෂ අවශ්‍යතා සහිත වූවන් පිළිබඳ සංවේදීතාවෙන් යුතුව කටයුතු කිරීමට හා එවැනි අයගේ දක්ෂතා හඳුනා ගැනීමට මෙන් ම එවැනි විශේෂිත අවශ්‍යතා සහිත අයට සමානව සැලකීමේ වැදගත්කම පෙන්වා දීමට ද මෙම පාඩම උපයෝගි කරගත හැකි ය.

**දහහත්වන පාඩම** - මනා සේ ශිල්ප ශාස්ත්‍ර උගෙන දඹදිව ප්‍රකට වෛද්‍යවරයකු වූ "ජීවකගේ කතාව" මෙම පාඩමට විෂය වේ. මනා කැපවීමෙන් අධ්‍යාපනය ලැබීමෙන් ජීවිතය සාර්ථක කරගත හැකි ආකාරය ළමයින්ට අවබෝධ කරවීමට මෙම පාඩම බෙහෙවින් උපකාරී වේ. රෝගීන්ට උපස්ථාන කිරීම හා අරපිරිමැස්ම ආදි චරිතාදර්ශ ද මෙමගින් ප්‍රකට වේ. **පූජාවලිය** වැනි සම්භාව්‍ය සාහිත්‍ය නිර්මාණවල අගය වටහා දීමට ද මෙම පාඩම උපකාරී වේ.

**දහඅටවන පාඩම** - "නුවණින් ම තෝරමු" නම් මෙම පාඩමට පාදක වන්නේ නිවැරදිව සෞඛ්‍යසම්පන්න ආහාර පුරුදු පවත්වාගැනීමේ වැදගත්කම ළමයින්ට පහදා දීමයි. පෝෂ්‍යදායී සෞඛ්‍යසම්පන්න ආහාර වේලක වැදගත්කම, ව්‍යායාමවලින් යුක්ත සක්‍රිය ජීවිතයක වටිනාකම හා අහිතකර ආහාරවලින් වැළකීම ආදි කරුණු රාශියක් මෙම පාඩමෙන් ඉස්මතු කර දැක්විය හැකි ය.

**දහනවවන පාඩම** - ශ්‍රී ලංකාවේ සුන්දරත්වය විදේශිකයකුගේ ඇසින් දකින ආකාරය මෙම පාඩමට තේමා වී ඇත. අප රට පිළිබඳ යහපත් ආකල්ප ළමා සිතෙහි ජනිත කරවීමට මෙම පාඩම උපයෝගී වේ.

**විසිවන පාඩම** - මෙම පාඩමෙන් වේදිකා නාට්‍යයක පෙළ ඉදිරිපත් කර ඇත. හාස්‍ය රසයත් වින්දනයත් කැටි කරගත් මෙම නාට්‍යයෙන් සත්ත්ව චරිත ඔස්සේ ළමා ලෝකයට ඉතා සමීප අද්දැකීම් ප්‍රතිනිර්මාණය කර ඇත. අලස නොවීම, සහයෝගයෙන් වැඩ කිරීම, අවංක වීම ආදි ආකල්ප සංවර්ධනයටත් මෙම වේදිකා නාට්‍යය ඔස්සේ මංපෙත් විවර කර ගත හැකි ය.

මේ පෙළපොත සඳහා උපුටා ගෙන ඇති උද්ධෘතවල කර්තෘවරුන්ට ද ප්‍රකාශකයන්ට ද අපගේ විශේෂ ස්තුතිය පිරිනැමේ. ස්වකීය කාලය කැප කර අදහස් ලබා දුන් සියලු දෙනාට ද අපගේ කෘතඥතාව පිරිනැමේ.

'කැලෑවේ අන්තර්ජාලය' නම් පාඩම සඳහා කිසිදු මූල්‍ය ප්‍රතිලාභයකින් තොරව සිතුවම් ඇඳ දුන් චන්දන සමරකෝන් මහතාට අපගේ ගෞරවය පිරිනමමු.

(සම්පාදක මණ්ඩලය)